සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2559ක් වූ දුරුතු මස (ව්‍යවහාරික වර්ෂ 2017 ජනවාරි)

64 වෙනි කලාපය



## යුතුකම් සහ වගකීම් දහම් ඇසින්

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# සුමේධා රහත් තෙරණියෝ

මන්තාවති නුවර විසු කොංචි නරනිඳු
රන්දා කිතු යසස විය එපුර පරසිඳු
කන්දී බුදු බණට දහමටම සිත යෙදූ
කොංචී රජුට විය දුවණියක ගුණ රැඳූ

කුමරිය මෙම සුමේධා ගුණෝනි සුසැදුන
තරුණය පියකරුය නිසි වයස සපිරුන
සරණය පිණිස කුමරෙකු සෙවුම ඇරඹිණ
නියමය රජුගෙ එපරිදි මැයට පැවසින

ගිහි ගෙය ගිනි ගොඩකි නුවණැතිහු පවසති
එබඳුය යුග දිවිය වුව එබව සැක නැති
පිරුමය කුසල් යුතු වී එගැන දැනුමැති
දහිරිය වඩමි දිනුමට සසර දුක ඇති

සියලුම යස ඉසුරු ලොව අතිරව පවතී
එල කිම මෙමට කම් සුව අබියස නැවතී
තිරවම රකිමි පිළිවෙත බඹසර නමැතී
නිවනම සොයා යමි පසු නොබසිමි නියතී

මෙඅතර අනිකදස් නම් කුමරෙකු පැමිණ
අවසර රජුගෙ ලැබ ලෙස කුමරිය දකින
පියවර නගයි ඇය ඔහු දුටු සඳ සොවින
එකවර කපයි වරලස අසිපත රැගෙන

එමවිට කුමරු පවසයි පෙම් වදන් දොඩා
කුටියට වී සිටිනු ඇයි ඔබ බවුන් වඩා
මතුවට වසමු ඔය සිතුවිලි යදම් කඩා
ඔබ හට සුව සදමි කිම එල සොවින් හඬා

කාමය ගිනි හුලකි දනු සියොළඟ දවන
ලෝදිය බඳුය අට මහ නරකයෙ පැසෙන
ආලය අතහරිනු කම් සැපයෙහි ගැලුන
රාගය පවකි දත යුතු දෙලොවම තවන

පවසා එලෙස ඇය දැහැනට සම වැදුනා
එඅසා කුමරු සිතැ තිබු රාගය සිඳුනා
විමසා පිය නිරිඳු ඇය අවසර රැගෙනා
සනරාමර මුනිඳු ළඟ පැවිදිව නිවුනා

(ථේරී අපදාන ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ලෝකය අනිච්ච නිසා අපි නිකං සිටිය යුතුද?

**ලොව සැමට එක සේ පොදු අනිච්චතාවය 14**



ලෝකය අනිච්ච නම්, ඒ කියන්නෙ අපේ කැමැත්තට පවත්වන්න බැරි නම්, අපි සියළු වැඩ අත්හැරල මුකුත් නොකර නිකං හිටියම හරි කියල කෙනෙකුට අදහසක් එන්න පුළුවන්. විශේෂයෙන් පාසල් අධ්‍යාපනය ලබන ළමයෙකුට හිතෙන්න පුළුවන් මේ ඉගෙන ගැනීමෙන් වැඩක් නෑනෙ කියල.

අනිච්චතාවය හෙවත් ලෝකෙ හැටි අවබෝධ නොවුන කෙනෙක්, ලෝකෙන් යමක් ලබාගන්න උනන්දු වෙන්නෙ, ලෝකෙ හරි වටිනා දේවල් තියෙනවා කියන අදහසින්. ඔවුන් ලෝකයට ඉතා ලොකු වටිනාකමක් දෙනවා. කොහොම හරි පොරකාල වටිනා දේ ගන්න ඕන කියන අදහස තමයි තියෙන්නෙ. අනෙකා දෙවැනි කරල කොහොම හරි ජය ගන්න ඕන කියන අදහසින් තමයි ඉන්නෙ. අද අධ්‍යාපනය ලබන සිසු දරුවන් පවා හුරු කරවන්නෙ ඒ වගේ තරඟකාරී මානසිකත්වයකට. හැබැයි මේ **තරඟකාරී බවයි, ජීවත් වීමට කටයුතු කරනවයි කියන්නෙයි කාරණා දෙකක්.**

තරඟකාරී ස්වභාවයකදි අපිට නොදැනුවත්වම දූෂ්‍ය මානසිකත්වයක් ඇතිවෙනවා. අනෙකා දෙවැනි කරල මම පළවෙනි තැන ගන්න ඕන කියන කොටම ඇතිවෙන්නෙ දූෂ්‍ය මනසක්. "අත්තුක්කංසන පරවම්භන" කියල ඒ ස්වභාවය හඳුන්වනවා. ඒ තමයි තමන් උසස් කොට අනෙකා පහත් කොට තැකීම. තරඟකාරීත්වයට බැස්සම ඒක නිරායාසයෙන්ම සිද්ධ වෙනවා. ඒ තරඟකාරීත්වය තමන් හෝ තමන්ගෙ ඥාතියෙක්, හිතවතෙක් වෙනුවෙන් ඇතිවෙන්න පුළුවන්. මොකක් ගත්තත් ඒකෙන් පළවෙනි තැන ගන්න තමයි ලෝකයා උත්සාහ කරන්නෙ. මොකද පංච කාම ලෝකයේ උසස් කියන සම්මත තැනක් ලැබෙන්නෙ ඒ වගේ අයට. ඒකට තමයි වටිනාකමක් දීල තියෙන්නෙ. ඒවා ලබා ගන්න, අනෙකාට පරාජය මට ජය කියන අදහසින් මහා තරඟයකට බහින්න වෙනවා. ඒ වගේ වටිනා දේවල් සීමා සහිත නිසා ඒවා තමන් සතු කර ගන්න පොරකනවා.

හැබැයි ධර්මය තුල ස්වභාවයක් තියෙනවා. **ධර්මයෙන් ජය ගන්න කිසිම කෙනෙකුට තරඟ කරන්න දෙයක් නෑ. ඕන තරම් ඉඩ තියෙනවා. එක්කෙනෙකුට ලැබුනම අනෙක් කෙනෙකුට හිඟ පාඩු වෙනව කියල එකක් ඒකෙ නෑ. මාර්ග ඵලයක් ගත්තත්, ධ්‍යාන ගත්තත් ඒවායේ සීමා සහිතයි කියන ස්වභාවයක් නෑ.** කෙනෙකුට මාර්ග ඵලයක්, ධ්‍යානයක් ලැබුන කියල අනෙක් අයට අඩු වෙන්නෙ නෑ, පාඩු වෙන්නෙ නෑ. සසර හේතු වාසනා තියෙනව නම්, ප්‍රඥාව තියෙනව නම්, ප්‍රතිපත්ති පුරනව නම්, ඒ සඳහා වීර්ය කරනව නම්, ඕනෑම කෙනෙකුට කාටවත් කරදරයක් අසාධාරණයක් කරන්නෙ නැතිව තමන්ගෙ වැඩේ කරගන්න පුළුවන්. නිවනෙ ඕන තරම් ඉඩ තියෙනවා. කාටවත් අඩුවක් වෙන්නෙ නෑ.

හැබැයි ලෝකයේ කිසිම දෙයක එහෙම ස්වභාවයක් නෑ. පංච කාම වස්තු සීමා සහිතයි. රැකී රක්ෂා, තානාන්තර, තරඟ විභාග, ක්‍රීඩා තරඟ ආදියේ එහෙම ස්වභාවයක් නෑ. එක්කෙනෙක් දිනුවොත් අනෙකා පරාදයි. දිනපු කෙනා ලෝකයට ඇලෙනවා. පැරදුනු කෙනා ගැටෙනවා. තානාන්තර 10 ක් තියෙනව නම් ඒකට ලක්ෂයක් දෙනා තරඟ කරනවා. තර + අඟ = තරඟ - තර කියන්නෙ යමක් තර කරගන්න ඒකම අල්ලගෙන ඉන්නවා කියන එක. අඟකින් කරන්නෙ අනින එක, ගැටෙන එක. තරයේ ගැටෙනවා කියන එක තමයි තරඟ කියන්නෙ. මහා දාහයකින් පෙළෙනවා. අනෙකා පරාජය කරනවා කියන අදහස ගන්න කොටම හිත දූෂ්‍යයි. එතකොට ඒක තමන්ගෙ ජයග්‍රහණයට බාධාවක් වෙනවා.

මෙතනදි දැන ගත යුතු වැදගත් දෙයක් තියෙනවා. අපි මෙච්චර කල් අධ්‍යාපනයට හෝ වෙනත් යමකට උත්සාහ කළේ අවශ්‍යතාවය නිසාම නෙවෙයි. කොහොම හරි ජයග්‍රහණය කරන්න ඕන හරි වටිනා දෙයක් ලෝකෙ තියෙනවා කියන අදහසින් තමයි කටයුතු කරල තියෙන්නෙ. ඒක තමයි පෘතජ්ජන ස්වභාවය. ලෝකයේ තැනක් ගන්න බලාපොරොත්තුවෙන් තරඟයට බහිනවා. හැබැයි තරඟකාරී ජීවිතයකදි බොහෝකොටම පරාජයක් තමයි එන්නෙ. ඒකට හේතුවක් තියෙනවා. යම් කිසි හිතක් දූෂ්‍ය වුනොත් ඒ හිතට ඉගෙනීම, දැනගැනීම නිරවුල්ව ඇතුල් වෙන්නෙ නෑ. කොච්චර උත්සාහ කළත් මනස ඒවා දරන්නෙ නෑ. දුක අසහනය තවත් වැඩි වෙනවා. **අපි යමක් දැනගත යුත්තෙ, ඉගෙනගත යුත්තෙ, ලබා ගත යුත්තෙ ඒකෙන් ජීවත් වීමට ඇති අවශ්‍යතාවයන් සපුරාගන්න මිසක් තරඟකාරීව පළවෙනි තැන ගන්න නෙවෙයි කියන අදහස ගන්න ඕන.** ලෝකයේ ජීවත් වෙන්න අපි දැනුවත් වෙන්න ඕන. ජීවිතය පවත්වාගෙන යන්න අපි යමක් ඉගෙනගන්න ඕන, යමක් ලබාගන්න ඕන. පළවෙනිය වෙන්නම නෙවෙයි කටයුතු කරන්න ඕන. එහෙම අදහසක් ගත්ත ගමන් හිත දූෂ්‍ය වෙනවා.

ළමයි ලක්ෂයක් ඉගෙන ගන්නව නම්, වෛද්‍යවරු ලක්ෂයක් බිහිවෙන්නෙ නෑ. ඒ වගේම ඉංජිනේරුවො ලක්ෂයක් බිහි වෙන්නෙ නෑ. විශ්ව විද්‍යාලවලට ඇතුලත් කර ගන්නෙ ඉතා සීමිත ප්‍රමාණයක්. මේවාට යන්න පුළුවන් වෙන්නෙ ඉතා සීමිත පිරිසකට. වැඩිම ලකුණු ගත්ත ළමයි තමයි ඒවාට සුදුසුකම් ලබන්නෙ. එහෙම සුදුසුකම් ලබන්න පුළුවන් වෙන්නෙත් කර්ම ශක්තියට යටත්ව සසර හේතු තිබුනොත් තමයි. රැකියාවක උසස්වීමක් වුනත් එහෙමයි. සුදුසුකම් කියන්නෙත් හේතුඵලයක් මිසක් අහඹුවක් නෙවෙයි. හැබැයි දාහයට පත් නොවී වැඩ කළොත් තමයි ඒ සුදුසු තැනත් ලැබෙන්නෙ. දාහයට පත්වෙලා අනෙකා දෙවැනි කරනවා කියන අදහස ගත්තොත් එතන දූෂ්‍යතාවයක් නැගෙනවා. ඒක නීවරණයක් වෙනවා, ප්‍රයෝග විපත්තියක් වෙනවා. ඒක ඉගෙනීමට බාධාවක්. එතකොට උත්සාහයේ තරමට ප්‍රතිඵල ලැබෙන්නෙ නෑ.

ලෝකයේ යථාර්ථය වැටහෙන කොට ලෞකික දේවල් සම්බන්ධයෙන් අධෛර්යයක් එනවා. ඒ මොකද අපි කැමති සේ පවතින එකක් ගැනයි මෙච්චර කල් හිතාගෙන හිටියෙ. එතකොට අපිට ඒක ඒකාන්තයෙන් ලබාගන්න ඕන කියන හැඟීමක් එනවා. තරඟකාරී ලෝකෙ පොරකාල ලබාග න්න ඕන කියල හිතෙනවා. මේ වගේ අවස්ථාවක් ගැන කියවෙන පුංචි කතාවක් තියෙනවා. එක්තරා ළමයි කණ්ඩායමක ඥානවන්තයා තෝරගන්න පොඩි තරඟයක් තිබුනා. හැබැයි මෙතනදි කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේක ශක්තිවන්තයා තෝරගන්න තියපු තරඟයක් කියල. නමුත් එහෙම නෙවෙයි. ළමයි දහ දෙනෙකුට පමණ ඉන්න පුළුවන්, අඩි 6 1/2 ක පමණ ගැඹුරු වළක් කපල ඒකට වොලිබෝලයක් තරම් බෝලයක් දැම්මා. දැන් ළමයි ඒ වළට ටිකක් දුරින් පෙළට තියල කිව්වා, තරඟය පටන් ගන්න සංඥාවක් දුන්න ගමන් ක්‍රියාත්මක වෙලා වළේ තියෙන බෝලෙ ඉස්සෙල්ලම අරගෙන නැවතත් හිටපු තැනට ආපු ළමය තමයි ජයග්‍රහණය කරන්නෙ කියල.

දැන් තරඟය ආරම්භ කරන්න සංඥාව දීපු ගමන් එක ළමයෙක් හැර අනෙක් සියල්ලෝම තරඟයට දුවගෙන ගිහින් වළට පැන්නා. දැන් ඔක්කොම වළ ඇතුලෙ ඉඳගෙන පොරකනවා. තරඟයට එක් නොවුන ළමයා හෙමිහිට වළ ළඟට ඇවිත් කිසි කලබලයක් නැතිව බලන් ඉන්නවා. දැන් කෙනෙක් බෝලෙ ගන්න කොට තව කෙනෙක් උදුරනවා. අන්තිමට ඔක්කොම ඒකට පොර බදනවා. කවුරුහරි බෝලෙ අරගෙන උඩට නගින්න හැදුවොත් නැවත පොර කාල අල්ල ගන්නවා. මේ විදිහට ටික වෙලාවක් යනකොට ඔක්කොම අධික වෙහෙසට පත් වෙනවා. දැන් එක එක්කෙනා අධික වෙහෙසට පත්වෙලා ඇදගෙන වැටෙනවා. අන්තිමට වළ ඇතුලෙ ඉන්න ශක්තිවන්තම ළමය බෝලෙ ලබාගන්නවා. හැබැයි ඔහුටත් හොඳටම වෙහෙසයි. දැන් ඔහු වළෙන් ගොඩට එනකොටම අර වළ ගැට්ටට වෙලා නිකං බලාගෙන ඉඳපු ළමය පහසුවෙන් බෝලෙ උදුරගෙන දුවල ගිහින් ජයග්‍රහණය ලබා ගන්නවා. ඥානවන්ත ළමය මහන්සි නොවීම දිනුම ලබාගෙන පළවෙනිය වුනා. පොර කකා එකිනෙකා ඇන කොටා ගත් ළමයි නිකං වෙහෙසට පත්වුනා විතරයි.

දැන් අධ්‍යාපනය ලබද්දිත් අනෙක් අය පරද්දල පළවැනි තැන ගන්න ගියොත් ඔය තත්ත්වයට පත් වෙනවා. අද දෙමව්පියන්ගෙ පටන් මුළු මහත් සමාජයම ළමයින්ව හුරු කරන්නෙ ඒ වගේ තත්ත්වයකට. පහේ ශිෂ්‍යත්ව විභාගයේ පටන් සාමාන්‍ය පෙළ, උසස් පෙළ දක්වාම ඒ තත්ත්වය බොහොම දරුණුවට තියෙනවා. ඊළඟට දැන් විවිධ රූපවාහිනී නාළිකාවල තියෙනවා පුංචි ළමයි පවා යොදාගෙන කරන සුපිරි තරු තෝරන තරඟ. ඒවායේ තරඟකාරීත්වය ඊටත් එහා. මොකද සුපිරි තරුවක් වෙන්න සෑහෙන මුදලක් වියදම් කරල ප්‍රචාරයක් කරන්නත් වෙනවා. හරියට දැන් තියෙන මැතිවරණ වගේ. එතකොට මනස දූෂ්‍යයි. එකිනෙකා කෙරෙහි වෛරයක්, තරහක්, ඉරිසියාවක් හටගන්නවා. යමක් කරන්න පුළුවන්, යම් හැකියාවක් තියෙන ළමයෙක් දැක්කොත් ඉරිසියාවක් හටගන්නවා. ඒක මානසිකව පහත් තත්ත්වයකට ඇද වැටෙන්න හේතු වෙනවා. ළමයින්ගෙ තවමත් අසුද්ධ නොවුන ළපටි මනස කුඩා කාලයෙදිම කිළුටු වුනොත් ඒක මුළු ජීවිතයටම බලපානවා. ඒක පරාජයට මුලක්.

ප්‍රසන්න මනසකින් ඉන්න කොට නිරායාසයෙන්ම ජයග්‍රහණය ලැබෙනවා. ඒ නිසා **අපි ඉගෙන ගන්න ඕන, ලෝකය තුළ අපේ හැකියාවට, සුදුසුකමට යමක් කරල දැහැමින් ජීවත් වෙන්න ක්‍රමයක් හදාගන්න මිසක් පළවෙනිය වෙන්න නෙවෙයි.** අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් ඉඳගෙන උත්සාහ කරන කොට හේතු තියෙනව නම් ඵල ලැබෙයි. ආර්යයෙක් නම් අදහස වෙන්නෙ, ආර්ය මාර්ගය පූර්ණ කරගන්න කල් පහසුවෙන් ජීවත් වෙන්න මගක් හදාගන්න ඕන නිසා යමක් ඉගෙන ගන්න මිසක් ලෝකය අල්ලගන්න නෙවෙයි. අනාර්යයෙක් නම් ලෝකය අල්ල ගන්න තමයි ඉගෙන ගන්නෙ. මොකද ඔවුන් ලෝකය කැමති සේ පවත්වන්න පුළුවන් කියන දෘෂ්ටියේ ඉන්නෙ.

ලෝකය අනිච්චයි, දුක්ඛයි, අනත්තයි, සාරත්වයක් නෑ, හරයක් නෑ කියල වටහ ගන්න පෙර, ලෝකය අල්ලන්න නම් ක්‍රියා කළේ, සත්‍යය වැටහුණු ගමන් ලෝකය එපා වෙනවා. කිසිම වැඩක් පලක් නොකර සියල්ලෙන් මිදිල ඉන්න හිතෙනවා. අධ්‍යාපනය ලබන්නත් එපා වෙනවා. මේකට හේතුව මොකක්ද? මෙච්චර කල් ඉගෙන ගත්තෙ තරඟ කරල ජය අරගෙන අර සීමිතව පවතින තනතුරු ලබාගෙන ලෝකයේ පළවෙනිය වෙන්න. අනෙකා මැඩ පවත්වල මම එතනට පත්වෙන්න ඕන කියන අදහසින් තමයි හිටියෙ. අපි ඒ ආකල්පයේ හිටියොත් ඒකට පහර වදිනවා. දහම දැක්කම මේ හරයක් නැති ලෝකෙ මොනවා ලබා ගන්නද කියල හිතෙනවා. ආර්ය වෙනකොට ඇත්තටම නැති වෙන්නෙ, මේ ලෝකය හොඳයි සාරයි වටිනවා කියන සංකල්පය විතරයි. එහෙම නැතුව සියලු වැඩ අත් හැරල මිදිල නිකං ඉන්න ඕන කියන අදහසක් එන්නෙ නෑ.

ලෝකයේ හරයක් නැත්නම්, අපි ඉගෙන ගන්නෙ, ලෝකයේ වැඩ කටයුතු කරන්නෙ මොකටද කියල හොඳින් තේරුම් ගන්න ඕන. ලෝකය තුල ජීවිතයක් ගත කරන කොට හොඳ නිසා කරන දේවල් වගේම, හොඳ වුනත් නරක වුනත් යුතුකම් ඉටුකිරීම කියල දෙයක් තියෙනවා. මේ දෙක යථාර්ථයෙන් ඉස්සෙල්ලම තෝර ගන්න ඕන. අපි යුතුකම් ඉටු කරන්නෙ හොඳ නිසාම නෙවෙයි. කළ යුතු නිසා. අපි ලෝකෙට තියෙන කැමැත්ත නිසා යුතුකම් ඉටු කරනවා නෙවෙයි. අපිට කෙනෙක් උදව්වක් කළා නම් ඒකට ප්‍රතිඋපකාර කරන එක අපේ යුතුකම. දෙමව්පියන් අපිව හදල වඩල ☞

ඇති දැඩි කරල උගන්වල රක්ෂණය පෝෂණය කරල මේ තත්ත්වයට පත් කිරීම වෙනුවෙන් කෘතෝපකාර විදිහට, ඔවුන්ට බැරි වෙනකොට රැක බලා ගැනීම අපේ යුතුකම. ඒක ලෝකෙ හොඳ නිසා කරන දෙයක් නෙවෙයි. ලෝකය අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල ඒ යුතුකම නතර කරන්න බෑ. නිවන් දකින්න දෙමව්පියො ඕන නෑ කියල අතහැරල දාන්න බෑ. බුදු **පියාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට පවා පිණ්ඩපාතෙ කරල තමන්ගෙ නැති බැරි දෙමව්පියන්ව පෝෂණය කරන්න, රක්ෂා කරන්න අවසර දීල තියෙනවා.**

නැදෑ හිත මිතුරන් පවා උපකාරයක් කළා නම් ඒකට ප්‍රති උපකාර කරන්න ඕන. අපිට යම් ශිල්පයක් සාස්තරයක් උගන්වපු ගුරුවරුන්ට, පුළුවන් විදිහකට උදව් කරන්න ඕන. මොකද අද අපි හොඳින් ජීවත් වෙන්නෙ ඒ අය නිසා. අපිට බඩගිනි වුනාම ආහාරයක් අවශ්‍ය වෙනවා. අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල බඩගින්නෙ ඉන්න බෑ. ඒ වගේම අව්වෙන් වැස්සෙන් පින්නෙන්, මැසි මදුරුවන්ගෙන් ආරක්ෂා වෙලා ඉන්න වාසස්ථානයක් අවශ්‍ය වෙනවා. අඳින්න ඇඳුම් ඕන කරනවා. ලෙඩක් හැදුනම බෙහෙතක් කර ගන්න පුළුවන් වෙන්න ඕන. ගිහි වතක ඉන්න අයට මේවා නිකං ලැබෙන්නෙ නෑ. අනුන්ට අත පාල ජීවත් වෙන්න බෑ. පැවිදි උතුමන්ට නම් සිවු පසය දායකයන් විසින් සකස් කරල දෙනවා, අඩුපාඩු හොයල බලල සපුරල දෙනවා. ගිහි පින්වතුන්ට සිවු පසය කවුරුවත් නිකං දෙන්නෙ නෑ. ඒ නිසා ඔවුන් සිවුපසය සපයා ගන්න මොකක් හරි දැහැමි රැකියාවක් කරන්න ඕන. ලෝකය හරයක් නෑ කියල නිකං ඉඳල හරි යන්නෙ නෑ. බුදු දහම කියන්නෙ ඒක නෙවෙයි.

ධර්මාවබෝධය තුළින් අතහැරෙන්නෙ, කිසියම් දෙයකට තියෙන ඡන්ද රාගය, කැමැත්ත, ආසාව මිසක් කරන වැඩ කටයුතු නෙවෙයි. යුතුකම් ඉටු කළා කියල එතන බැඳෙන්නෙ නෑ. කිසියම් වැඩක් කළේ ඡන්ද රාගයෙන් නම්, ඒ වැඩේ නෙවෙයි නවත්වන්නෙ, ඒ කෙරෙහි තිබුණු ඡන්ද රාගය. **රාග, ද්වේශ, මෝහවලින් මිදෙනව මිසක් වැඩ කටයුතුවලින් මිදීමක් නෙවෙයි නිවන් දකිනව කියන්නෙ.** හැබැයි ඉතින් ලෝකය වටිනවා සාරයි කියල අරගෙන කරපු අනවශ්‍ය වැඩ නම් නතර වෙනවා. අනවශ්‍ය වියදමුත් අඩු වෙනවා. දැන් අත්‍යවශ්‍ය වැඩවලට කාලයත් තියෙනවා, මුදලුත් තියෙනවා.

තවත් මතක් කරගන්න වැදගත් කාරණයක් තියෙනවා. අපි ලෝකයේ ජීවත් වෙන්නෙ අන්‍යෝන්‍ය වශයෙන් උදව් උපකාර කරගෙන. අද හැදිල තියෙන සමාජ ක්‍රමය අනුව අපිට තනියෙන් ජීවත් වෙන්න බෑ. අපි ඒක මහතෙක් කපු වගා කරන්න ඕන. ඒ ඉඩම් සකසල පොහොර යොදල කපු ගස් වවන්න ඕන. ඒවාට වාරි මාර්ග ක්‍රම උපකාරයෙන් ජලය සපයන්න ඕන. කපු අස්වැන්න අරගෙන ඒවා වේලල සකස් කරල නූල් හදන කර්මාන්ත ශාලාවකට ප්‍රවාහනය කරන්න ඕන. ඒ නූල් උපයෝගී කරගෙන රෙදි වියන්න ඕන. ඒවා වර්ණ ගන්වන්න ඕන. මේ විදිහට විග්‍රහ කරගෙන ගියොත්, ඉතා විසාල පිරිසකගෙ මහන්සියේ



විග්‍රහ කරල තේරුම් ගන්න ඕන. දැන් අපිට ඇඳුම් නැතිව ජීවත් වෙන්න බෑ. ඒක ගැලපෙන්නෙ නෑ. සමාජ සම්මත ඇඳුම් අඳින විධි ක්‍රම තියෙනවා. ඇඳුම්වල ප්‍රධාන කාර්යන් තමයි විළි වසා ගැනීමයි, සීත උෂ්ණ දුරු කර ගැනීමයි, මැසි මදුරුවන්ගෙන් ආරක්ෂා වීමයි. සමාජ චාරිත්‍ර අනුව අඳින පළඳින එක ජීවිත පැවැත්මේම කොටසක්.

අපි සල්ලි දීල ඇඳුම් ගන්නව කියල කිව්වට අපිට සල්ලි තිබුනට ඇඳුම් කොහෙන්ද? එහෙනම් අපි දැන ගන්න ඕන, අපිට ඇඳුම් ලැබුනෙ කොහොමද කියල. අපේ අතට ඇඳුමක් ලැබෙන්න කී දෙනෙක් නම් සහසම්බන්ධ වෙන්න ඕනද? මහපු ඇඳුමක් නම් අපට ලැබුනෙ, ඒක කවුරුහරි මහන්න ඕන. ඒකට රෙදි අවශ්‍ය වෙනවා. මැහුම් යන්ත්‍ර සහ අදාළ උපකරණ අවශ්‍ය වෙනවා. දැන් නූල් බෝලෙ පටන් බොත්තම් ආදී තවත් බොහෝ දෑ අවශ්‍ය වෙනවා. ඒ එකක්වත් නිකං ලැබෙන්නෙ නෑ. රෙදිවල පටන් ඒ සියල්ලක්ම අදාළ අමු ද්‍රව්‍ය යොදාගෙන කවුරුහරි නිෂ්පාදනය කරන්න ඕන. රෙදි නිෂ්පාදනය ගත්තොත්, ගොවි

ප්‍රතිඵලයක් හැටියට තමයි අපිට ඇඳුමක් ලැබෙන්නෙ. දැන් ඒ පිරිසගෙන් ලබා ගත්තාවූ දෙයින් අපි අඳිනව වගේම ඒ අයටත් අපි යුතුකමක් ඉටු කරන්න ඕන. ඒ අය තමන්ගෙ හැකියාවන්ගෙන් ලෝකයට යමක් දුන්න වගේම, අපේ හැකියාවන්ගෙනුත් අපි ලෝකයට යමක් දෙන්න ඕන. අපි හිතුවොත් අපි සල්ලි දීලනෙ ඇඳුම් ගත්තෙ, ආයෙ මොකටද යුතුකම් ඉටු කරන්නෙ කියල ඒක වැරදියි. මොකද අපිට සල්ලි තිබුන කියල ඔක්කොම තනියෙන් කරගන්න බෑ.

ඒ වගේම අපිට ආහාර ටික ලැබෙන්න, ලෙඩට බෙහෙතක් ගන්න, ඉන්න ගෙයක් දොරක් හදාගන්න වුනත් මහා පිරිසක් සම්බන්ධ වෙන්න ඕන. එහෙම තමයි අපිට ජීවත් වෙන්න අවශ්‍ය සිවු පසය අද ලබාගන්න වෙලා තියෙන්නෙ. ඒක හරිම සංකීර්ණ ක්‍රියා දාමයක්. දැන් ඒවා ලබාගෙන අපි පාඩුවේ ඉන්නව කිව්වොත්, අර සියලු දෙනාට අපේ යුතුකම ඉටු නොකළ වෙනවා. ඒ නිසා ලෝකයට අපෙන් විය යුතු යුතුකම් කොටස කරන්න නම් අපි නිකං ඉඳල හරි

යන්නෙ නෑ. සියල්ලම අනිච්චයි දුක්ඛයි අනත්තයි තමයි. හැබැයි අපි ලෝකයේ ජීවත් වෙන අන්තිම මොහොත වෙනකල්, අපි ලෝකයෙන් ලබාගන්න දේට අපෙන් ලෝකයට අන්‍යොන්‍ය වශයෙන් සහයෝගයක් තියෙන්න ඕන. අපිට ජීවත් වෙන්න ආධාරයක් අනෙක් අයගෙන් ලැබුන නම් අපිත් පෙරලා අපේ කොටස සමාජයට ඉටු කරන්න ඕන. කම්මැලි නොවී අපි යමක් ලෝකයට කළ යුත්තේ ඔන්න ඔය කාරණය නිසා. නැත්නම් අපි ලෝකයට ණය වෙනවා.

ලෝකය අපි කැමති සේ නෑ කියල අපි ලෝකයට ණය වෙලා ඉන්න හොඳ නෑ. ඒ නිසා ලෝකයට බැඳිල තියෙන ඡන්ද රාගය අතහැරල අවශ්‍යතාවයට වැඩ කරන්න පුරුදු වෙන්න ඕන. උදාහරණයකින් කියනව නම්, අපි **උදේ පාන්දරම වැසිකිළියට යන්නෙ අවශ්‍යතාවයට මිසක්, වැසිකිළි යාම හරි වටිනා සාර වැඩක් කියන අදහසක් අපට නෑ. ඒ වගේම අපි වැසිකිළි යාමට ද්වේශ කරන්නෙත් නෑ. ඒක සාරත්වයක් නැති වුනත් අපිට ජීවිතේ පවත්ව ගන්න අත්‍යවශ්‍ය කාර්යක් බව අපි දන්නවා. ලෙඩක් හැදුනම අපි බෙහෙතක් බොන්නෙත් ලෙඩේ හොඳ කරගන්න මිසක්, අනේ මට හැමදාම බෙහෙත් බොන්න තිබුන නම් කියන අදහසකින් නෙවෙයි. ජීවිතේ අනෙකුත් කටයුතුත් ඒ වගේ ඡන්ද රාගය අතහැරල, තරඟකාරිත්වය අතහැරල, මේ ජීවිත යාත්‍රාව කරදරයකින් තොරව පවත්වගන්න, ඒ වගේම අපෙන් ලෝකයට විය යුතු යුතුකම් ඉටු කරන්න ඕන කියන අදහසින් කරන්න ඕන.** එතකොට අනවශ්‍ය ඇලීම් ගැටීම් පහ වෙලා දාහයෙන් මිදිල ලද දෙයින් සතුටු වෙලා, සතුටින් ඉන්න ගමන් ආර්ය මාර්ගය පූර්ණ කරගන්න කටයුතු කර ගෙන යන්න පුළුවන්.

ඒ නිසා තමන්ගෙන් විය යුතු යුතුකම් වගකීම් හොඳින් වටහගෙන, විශේෂයෙන් අධ්‍යාපනය ලබන වයසෙ ඉන්න දූවා දරුවන් අධෛර්ය නොවී තමන්ගෙ වැඩ කටයුතු කරගෙන යන්න ඕන. අනුන් සමග සංසන්දනය නොකර දාහයට පත් නොවී තමන්ට හැකි උපරිම උත්සාහය යොදල අධ්‍යාපන කටයුතු කරගෙන යන්න ඕන. එක් එක්කෙනාට විවිධ මට්ටම්වලින් හොඳ හැකියාවන් තියෙනවා. ඒවා සසර පුරුදුත් එක්ක එන දේවල්. ඉගෙනීම තුලින් ඒවා ඔප මට්ටම් කරගන්න ඕන. ලොවෙන් එකෙක් එක් දෙයකට වෙයි සමථ කියල කියමනකුත් හැදිල තියෙන්නෙ ඒ නිසා. හැමෝටම සමාජ සම්මතයේ තියෙන වැදගත් රැකියාවන් ලබාගන්න බෑ. සම්මත හැදිල තියෙන්නෙ සමාජයේ වැඩි පිරිසකගෙ දෘෂ්ඨිය අනුව මිසක් ඒක ලෝකයේ තියෙන යථාර්ථය නෙවෙයි. සං + මත - සම්මත කියන්නෙ මත් වෙලා බැඳෙනවා කියන අදහස. ඒ කියන්නෙ ලෝකයට ඇලිල මත් වෙලා බැඳෙනවා, එකතු කරගන්නවා කියන අදහස. දාහයට පත් නොවී ඇත්ත දැකල කටයුතු කරන කෙනාට ජයග්‍රහණයක් මිසක් පරාජයක් ලැබෙන්නෙ නෑ. හැබැයි පෘතජ්ජන ලෝකයා ඒක වැරදියට දකින්න පුළුවන්, පරාජයක් විදිහට දකින්න පුළුවන්. සම්මා දිට්ඨියට පත්වූ ආර්ය ශ්‍රාවකයාට ලෝකයාගේ දෘෂ්ඨීන් ප්‍රශ්නයක් වෙන්නෙ නෑ. ඔහු ලෝකයටත් තමන්ගෙන් ඉටු විය යුතු යුතුකම් සහ සේවය ඉටු කරන ගමන් තමන්ගෙ නිවන පූර්ණ කරගන්නත් කටයුතු කර ගන්නවා.

ඒ වගේම සම්මා දිට්ඨියට පත් වෙච්ච කෙනෙකුට කරන්න පුළුවන් නම් හොඳම දේ තමයි, පැවිදි බිමට ඇතුලත් වෙලා තමන්ගෙ නිවන හැකි ඉක්මනින් පූර්ණ කරගැනීම. බුදු පියාණන් වහන්සේ පැවිදි බිමට ඇතුළු වීම, නිදහස් අහසකට, ලියවූ සක් ගෙඩියකට උපමා කරල තියෙනවා. ඒ කියන්නෙ පැවිදි බිම කියන්නෙ ඉතාමත් නිදහස් සුද්ධ තැනක්. මෙතනදි නිදහස කිව්වෙ, ගිහි ජීවිතේ කටයුතුවලින් ඈත් වෙලා ආර්ය මාර්ගය වඩාගන්න තියෙන නිදහස. එහෙම නැතුව ඔහේ කම්මැලිකමට කකා බිබී ඉන්න පුළුවන් කියන වල් බූරු නිදහස නෙවෙයි. දායකයන් සිවු පසයෙන් ඇප උපස්ථාන කරන්නෙ, ආර්ය මාර්ගය පූර්ණ කරගන්න පහසුවක් වෙන්න වගේම ඔවුන්ට සාසනික පිනක් කරගන්න අදහසින්. ඉතින් ඒ දායකයින් සැදැහැ සිතින් දෙන සිවු පසය පරිභෝග කරමින් සාසන මාර්ගය වඩන්නෙ නැත්නම්, අපාගත වෙනවට වඩා ගිනි වැළඳ ගැනීම හොඳයි කියන බුද්ධ දේශනාව මතකයට නගා ගත යුතුයි. (අග්ගික්ඛන්ධෝපම සූත්‍රය - මජ්ජිම නිකාය 2 - 464 පිටුව)

හැබැයි එක් එක් කෙනා සසරෙදි තම තමන් කරපු නොයෙකුත් පාප කර්ම හේතු කොටගෙන, විශේෂයෙන් අනුන්ට පැවිදි බිමට ඇතුලත් වෙන්න ඉඩ නොදීම, බාධා කිරීම වගේ හේතු නිසා අද කොච්චර අවශ්‍යතාවය තිබුනත් නොයෙකුත් හේතු නිසා ගිහි ගෙයි හිරවෙලා ඉන්න කරුණු යෙදිල තියෙන්න පුළුවන්. ඒ නිසා පැවිදි වීමත් තමන්ගෙ කැමැත්තට ඕන වෙලාවට කරගන්න බෑ. ඒකත් අනිච්චයි. ඉතින් එහෙම අවස්ථාවකදි කරන්න තියෙන්නෙ ඒවත් එක්ක ගැටෙන්නෙ නැතිව, තමන්ගෙන් ලෝකයට වෙන්න ඕන අන්‍යොන්‍ය යුතුකම් තේරුම් අරගෙන, දාහයට පත් නොවී, ඒවා ඉටු කරන ගමන් හැකි පමණ සතර සතිපට්ඨානයෙන් ජීවිතය ගත කිරීම, ඉඩ ලැබුණ හැම විටම කර්මස්ථාන වඩල ලෝකෝත්තර ධ්‍යාන වඩල හැකි තරම් අසා දැනගත් ධර්මය මෙනෙහි කරමින් විදර්ශනා කරමින් ජීවිතය ගත කිරීම. ඒ විදිහට මාර්ගය වඩාගෙන යනකොට ප්‍රතිඵල ලැබේවි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**
**0777 302407**

# අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බේත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ.

වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.)
0777-193907 / 071-8585621 / 078-4891332 / 077-1620072

# භෞතිකවාදීන්ගේ අවිද්‍යාව හෙවත් විද්‍යාවේ අවිද්‍යාව..... 5



සමහර ලෝක සම්මත උගත්තු නූතන විද්‍යාව තුළින් පැරණි දේවල්වලට පහර ගහන ගමන්, පැරණි දේවල්ම භාවිතා කරල වාණිජ වශයෙන් ලාභ උපයා ගන්නා ආකාරය පසුගිය කලාපයෙන් පෙන්වා දුන්නා. මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ, මේ වගේ භෞතිකවාදී අදහස් අපේ අධ්‍යාපන ක්‍රමයට බලපෑම් කරල තියෙන ආකාරයත්, පුරාණයේ පටන් එන වැඳුම් පිදුම් ක්‍රමවලට හණමිටි සහ මෝඩ වැඩ විදිහට සලකල ගරහන ආකාරයත් විමසා බලන්න.

නූතන විද්‍යාව හැමවිටම පෙනී සිටින්නෙ ඩාවින්ගේ පරිණාම වාදය මූලික කරගෙන. ඒක අපේ අධ්‍යාපන ක්‍රමයටත් විසාල බලපෑම් කරනවා. ඒ අතර සඳහන් කරන කාරණයක් තමයි, මිනිසා තිරිසන් සත්ත්වයන්ගෙන් ආරම්භ වෙලා ක්‍රමයෙන් වර්ධනය වෙනකොට ඔවුන් වැඳුම් පිදුම් කිරීම උදෙසා විවිධ ක්‍රම භාවිතා කළ බව. ඒ අනුව ඉර හඳට, ගස් ගල්වලට වන්දනාමාන කරමින් මේ වැඳුම් පිදුම් පටන් ගත්තු බව කියනවා. මේ කාරණය පාසල්වලත්, විශ්ව විද්‍යාල තුළත් උගන්වනවා. මනුස්සයින්ට ආගමක් අදහන්න අවශ්‍ය වුනාම හිරු සඳු, ගස් ගල් තෝර ගත්තු බව තමයි ඒ අය කියන්නෙ.

නමුත් බෞද්ධ ඉගැන්වීම්වලදි සඳහන් කරන දෙයක් තමයි, මිනිසාගේ පටන් ගැන්ම ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ඉඳන් ආපු බ්‍රහ්ම කල්පිත මනුස්සයි-න්ගෙන් සිද්ධ වූ බව. තව පැත්තකින් මිනිසාගේ ආරම්භය සතර අපායෙන් පටන් ගත් බවත් උගන්වනවා. නමුත් මේ කාරණා දෙකම එකට උගන්වන නිසා පාසල් ළමයින්ට ඒක තේරුම් ගන්න බැරිව ඉතා අසරණ වෙනවා. මොකද මේ තැන් දෙකක් විග්‍රහ කරන නිසා මොකක්ද හරි කියල තෝරගන්න බැරි වෙනවා. හැබැයි මේ කාරණා දෙකම බුදු දහමෙ හොඳට ගලපල පෙන්වනවා. ඒ ගැලපීමේ කිසිම පරස්පරයක් නෑ. අද ඉන්න අයට ඒක තෝර ගන්න බැරිවීමයි ගැටළුව වෙලා තියෙන්නෙ.

එතනදි ආභස්සර බ්‍රහ්ම ලෝකයේ තිබිච්ච සුද්ධත්වයෙන් පටන් ගෙන ක්‍රමයෙන් දස අකුසල්වලට යොමු වෙලා පල්ලම් බැහැල මනුස්ස, තිරිසන්, ක්ෂුද්‍ර ජීවී, නිරි සත්තු... ආදී වශයෙන් සතර අපාය දක්වාම සිද්ධ වෙන පරිණාමයක් ගැන හේතුඵල ඇතිව විග්‍රහ කරනවා. ඊළඟට ලෝක විනාසයෙදි ඒ පහළ තියෙන සතර අපා ලෝකත් අනුකූලව විනාස වෙනකොට නැවතත් ක්‍රමයෙන් මනුස්ස, දේව... ආදී වශයෙන් ඉහළට ගිහින් ඒ ලෝක තලත් විනාස වෙනකොට අවසානයේ ආභස්සර බ්‍රහ්ම ලෝකයේ නැවත උප්පත්තිය ලබන හැටිත් හේතුඵල ඇතිව පෙන්වනවා. (මේ පිළිබඳ පැහැදිලි කිරීමක් මේ කලාපයේම පළ වී ඇති "යුතුකම් සහ වගකීම් දහම් ඇසින්" ලිපියෙන් ඉදිරිපත් කරල තියෙනවා.)

නමුත් බටහිර රටවල්වල ඉගැන්වීම්වලදි ඒ වගේ ක්‍රම කිහිපයකින් විග්‍රහ වෙන්නෙ නෑ. මොකද ඒ රටවල ඉගැන්වීම් කරන්නෙ යම් කිසි විදිහකට තෝර ගත්තු එකම දෙයක් ගැන. ඉතිං මෙතනදි කියන දෙයක් තමයි, අපේ රටේ ළමයි බටහිර රටවල ළමයින්ට වඩා යම් කිසි දෙයක් දිහා බලන ආකාරය ඉතා පටු වීම මත ඔවුන්ගේ හිතීමේ හැකියාව, නව දේවල් උත්පාදනය කිරීමේ හැකියාව ඉතා පටුවෙලා තියෙන බව.

නමුත් මේකට වග කියන්න ඕන ළමයින්ද, නැත්නම් මේ අධ්‍යාපන ක්‍රමයට අහසට පොළොව වගේ පරස්පර ඉගැන්වීම් දෙකක් එකතු කළ බලධාරීන්ද? මොකද බටහිර ආක්‍රමණවලින් පස්සෙ තමයි මේ ආසියාතික රටවලට බටහිර අධ්‍යාපන ක්‍රම ඇතුළත් වුනේ. එතනදි ඔවුන් අපේ රටවල්වල නැගී සිටීමට බුදු දහමත් එක්ක පෝෂණය වෙච්ච අපේ ආවේණික අධ්‍යාපන ක්‍රමය ඉවහල් වන බව තේරුම් ගත්තු නිසා, ඒක වළක්වන්න අපේ අධ්‍යාපන ක්‍රමයට ඔවුන්ගෙ අදහස් දාල අපේ පැරණි අධ්‍යාපන ක්‍රමය යටපත් කළා. ඒ යටපත් කිරීමේ එක පැතිකඩක් විදිහට තමයි, **ඉතා වටිනා දහම් අදහස් ගැබ් වෙච්ච ලෝවැඩ සඟරාව පාසල් පෙළ පොත්වලින් ඉවත් කරල රාග, ද්වේශ, මෝහ සංකල්පනාවලින් බිහි වෙච්ච විවිධ කෙටි කතා, නව කතා ඇතුළත් කළේ.** ඒකෙ ප්‍රතිඵලයක් විදිහට අපේ ළමයින්ගෙ සිතීමේ හැකියාව මොට වෙලා ඉංග්‍රීසි අධ්‍යාපන ක්‍රමයේ ගැත්තන් බවට පත් වුනා. ඒ ගැතිභාවය කොච්චරද කියනව නම්, ඒ ඉංග්‍රීසි අධ්‍යාපන ක්‍රමයට පහර වදින තැනකදි බටහිර ජාතීන්ට වඩා කැක්කුමක් ආසියාතික (විශේෂයෙන් දකුණු ආසියාව) රටවල මිනිස්සුන්ට ඇතිවෙනවා.

දැන් නැවතත් මුල් කාරණාවට යොමු වුනොත්, බෞද්ධ අධ්‍යාපන ක්‍රමය තුළදි උගන්වපු දෙයක් තිබුනා. බුදු පියාණන් වහන්සේ පහළ වීමත් සමග, ගස් ගල්වලට වැඳීමේ ක්‍රමවේදයත් වෙනස් වුණා. ඒ

කියන්නෙ ගස් ගල්වලට වුනත් වඳිනව නම් ඒ වැඳීමේ චේතනාව මොකක්ද කියල බලන්න ඕන. ගහක් නිසා වඳිනව, ගලක් නිසා වඳිනව කිව්වනම් ඒක මුලාවක්. යම් කිසි විදිහකින් මෙන්න මේ හේතුව උඩයි අපේ පරම්පරාවෙ අය මේ ගහට වැන්දෙ, ඒ නිසා මමත් වඳිනව කිව්වනම් ඒ හේතුව බලන්න ඕන. අඩු ගානෙ, ඒ ගහේ රුක්ෂ දේවතාවෙක් ඉන්නවා, ඒ දේවතාවා මට උදව් කරන නිසා මම ඒ වෙනුවෙන් ඒ ගහට වඳිනව කිව්ව නම් ඒක නිවැරදියි. ඒ කාලෙ හිටපු එක්තරා මනුස්සයෙක් පස් කන්දකට වඳිනව දැකල බුදුන් වහන්සේ ඇහුවලු ඇයි ඔබ ඒ පස් කන්දට වඳින්නෙ කියල. එතකොට ඒ මනුස්සය කිව්වලු, අපේ පරම්පරාවෙ අය වඳින නිසා මමත් වඳිනව කියල. ඉතින් බුදුන් වහන්සේ බුද්ධ ඥානයෙන් අතීතය බලනකොට ඒක නිකම්ම පස් කන්දක් නෙවෙයි පෙර බුදුවරයන් වහන්සේ නමකගෙ ධාතු නිදන් කරල හදපු චෛත්‍යයක් බව දැනගත්තා. ඒ නිසා උන්වහන්සේ ඒ වැඳීම හේතු සහිතව අනුමත කළා.

දැන් මේ මනුස්සයො වන්දනාමාන කරන බෝධිය කියන්නෙ මොකක්ද කියල බලමු. නමුත් මේ කාරණය නියමාකාරයෙන් දැනගන්න නම් අපේ තුන් වැනි ඇස හෙවත් මනස ප්‍රගුණ කරගන්න සිද්ධ වෙනවා. ඒත් අපි දැනට පැරණි පොතපතට, කටින් කට ආ සිද්ධාන්තවලට යොමු වෙලා තමයි තීරණ ගන්නෙ.

බුද්ධත්වය කරා ඇදී හිටීම තමයි බෝ + ඇදි - බෝධි කියන්නෙ. බෝසතාණන් වහන්සේ ලොව පහළ වීමත් සමග සහජාත ප්‍රත්‍යයෙන් (සහයට ජාත වන) ඒ දවසෙ ඒ මොහොතෙම ලොවට බිහිවෙච්ච මහා බල සම්පන්න ශාකය තමයි ජය ශ්‍රී මහා බෝධිය. මේ ශාකය අනිත් ශාකවලින් වෙනස් වෙන්න මූලිකම හේතු කිහිපයක් සඳහන් කරන්න පුළුවන්. එකක් තමයි දැනට සොයාගෙන තියෙන උද්භිත විද්‍යා නියමයන්ටත් පටහැනිව වැඩෙන ලෝකයේ පවතින පැරණිම ශාකය වීම. මොකද මේ ජය ශ්‍රී මහා බෝධියේ සෛල / පටක තමන් විසින්ම නැවත නවීකරණය කර ගැනීමක් තමයි සිද්ධ වෙන්නෙ.

ලෝකයේ පවතින වෙනත් කිසිම ශාකයක තියෙන සෛල / පටක ස්වයං නවීකරණය වීමක් වෙන්නෙ නෑ. ඒවායේ සිද්ධ වෙන්නෙ, තියෙන සෛල / පටක මැරිල නැවත අළුත් සෛල / පටක හට ගැනීමක්. එහෙම වෙලා කල් යනකොට ඇතුල කුහරය ලොකු වෙලා වටේ පතුරු ගැලවිලා යනවා. නමුත් ජය ශ්‍රී මහා බෝධියේ තියෙන විශේෂත්වය තමයි, ඒ සෛල / පටක නැවත තමන් විසින්ම නවීකරණය කර ගනිමින් ඒ ආකාරයෙන්ම පවත්වාගෙන යාම. ඒ කියන්නෙ තියෙන සෛල මැරෙන්නෙ නෑ, ඊට පෙර නවීකරණය වෙනවා. ඒ වගේම සාමාන්‍යයෙන් ද්වි බීජ ශාකයක් ගත්තම කාලයත් සමග කඳ ක්‍රමයෙන් මහත් වීමක් සිද්ධ වෙනවා. නමුත් ජය ශ්‍රී මහා බෝධියේ කඳ කිසිම විටක තවදුරටත් මහත් වීමක් වෙන්නෙ නෑ. එදා තිබ්බ ප්‍රමාණයෙන්ම අදත් තියෙනවා. හෙටත් ඔය වට ප්‍රමාණයමයි. කඳ මහත් වෙන්නෙ නෑ.

earth" යනුවෙන් පරීක්ෂා කළා නම් ඊට අදාල තොරතුරු ලබාගන්න පුළුවන්. ඉතිං ඒක එහෙම වෙන්න මේ ජය ශ්‍රී මහා බෝධියේ පිහිටීමත් හේතු වෙලා තියෙනවා. නමුත් ඒ කාරණය විද්‍යාඥයෝ දන්නෙ නෑ.

බෝසතාණන් වහන්සේ නමක් බුදු වෙන්න පාරමිතා පුරනකොට ඊට අවශ්‍ය පරිසරයක් හැදෙනවා. ඒ පරිසරය හැදෙන්න පටන් ගන්නෙ ආභස්සර බ්‍රහ්ම ලෝකයේ පටන් මිනිස්සු පරිනාමය වෙනකොට මේ පෘථිවි තලයේ නිර්මාණයත් එක්ක. ඒ නිර්මාණයෙදි ඉස්සෙල්ලම හැදෙන්නෙ බුදු වෙන්න අවශ්‍ය පරිසරය වන මධ්‍ය දේශය. අන්න ඒ ප්‍රදේශය තමයි ශක්තිය උපරිමයෙන්ම තියෙන සැහැල්ලුම ප්‍රදේශය. උදාහරණයක් විදිහට ගහකින් ගෙඩියක් නිර්මාණය වෙනකොට ඒ




**තද කළු පාටට (වර්ණ ඡායාරූපයේ නිල් පාටින්) දිස්වෙන්නේ ලෝකයේ ගුරුත්වාකර්ෂණ බලය අඩුම තැන.**

තවත් වැදගත් කාරණයක් තමයි අනෙක් ශාකවලට වඩා සුවිශේෂී, ඉතා විසාල කිරණ ප්‍රමාණයක් විශ්වයට පිට කිරීම. මේ කාරණය කිරිලියන් කැමරාවක් භාවිතා කරල බැලුවොත් දැක බලාගන්න පුළුවන්. අනෙක ජය ශ්‍රී මහා බෝධිය මූලික කරගත් ප්‍රදේශයේ ගුරුත්වාකර්ෂණය ඉතා අඩු මට්ටමක තියෙන බව දැන් නවීන විද්‍යාවෙන්ම සොයාගෙන තියෙනවා. තවත් විදිහකින් සඳහන් කළොත්, **ලෝකයේ අඩුම ගුරුත්වාකර්ෂණයක් තියෙන රට ශ්‍රී ලංකාව සහ ඒ අවට ප්‍රදේශය කියල හොයාගෙන තියෙනවා.** අන්තර්ජාලයේ "Lowest gravity on

ගෙඩියේ වැඩිපුරම රසවත් ප්‍රදේශය තමයි නැට්ට තියෙන කොටස. පෘථිවිය නිර්මාණයෙදිත් ඒ වගේ මධ්‍ය ප්‍රදේශය තමයි හොඳම ප්‍රදේශය, සුද්ධම ප්‍රදේශය, පාරමිතා ශක්තිය බලගැන්වෙන ප්‍රදේශය. සුද්ධ භාවය වැඩියි කියන්නෙ ගුරුත්වාකර්ෂණය අඩුයි. ජය ශ්‍රී මහ බෝධිය පහළ වෙන්නෙ ඒ කියන මධ්‍ය දේශයේ.

යම් කිසි ස්ථානයක ගුරුත්වාකර්ෂණ බලය අඩු වෙනවයි කියන්නෙ ඒ ස්ථානයේ සැහැල්ලු බවක් ඇති වෙනවයි කියන එක. යම් කිසි කෙනෙක්ගෙ මනස යම්

තරමක් සැහැල්ලුද ඒ තරමටම ඊට අදාළ ලෝකයක් හට ගන්නවා. ඒ කියන්නෙ නාමයට අනුව රූපයක් නිර්මාණය වෙනවා. එතකොට ජය ශ්‍රී මහා බෝධිය කියන්නෙ මහ බෝසතාණන් වහන්සේගෙ පහළ වීමත් සමගම බුද්ධත්වයට සහය වෙන්න සහජාත ප්‍රත්‍යයෙන් හට ගත්තු වස්තුවක්. ඉතිං බුද්ධත්වය කියන්නෙ සැහැල්ලු බවේ උපරිමය. ඒ නිසා තමයි නාමයට අනුව රූපය හැදෙනකොට ඒ ගතියට අනුකූලව බෝධීන් වහන්සේ පහළ වන ස්ථානයෙත් සැහැල්ලු බව උපරිමයෙන් පිහිටන්නෙ. ඒ නිසාම තමයි බාධක කරදර දුරු කරගෙන බුදු වෙන්න ඒ ස්ථානය ප්‍රත්‍ය වෙන්නෙ. ඒකෙම අනිත් පැත්ත ගත්තොත්, **ලෝකයේ ගුරුත්වාකර්ෂණය වැඩි පැත්තක් ඇත්නම් ඒ ප්‍රදේශයේ මිනිස්සු හරි රෞද්‍රයි, කටුකයි.**

එතකොට ජය ශ්‍රී මහා බෝධිය මේ තරම් සුවිශේෂ වෙන්න හේතුව පැහැදිලියි. කලින් කිව්ව වගේ ලෝකයේ පහළ වූ මහා ප්‍රාඥයා වන බුදු පියාණන් වහන්සේගේ පහළ වීමට ආධාර වීමක් වශයෙන් ස්වයංජාතව තමයි මේ බෝධියත් ලෝකයට පහළ වෙන්නෙ. එහෙම නැතුව අනික් ශාක වගේ සත්තු කාල දාපු ඇටවලින්, අතු රිකිළිවලින් හෝ සුළඟට ගහගෙන ආපු බීජවලින් හෝ පහළ වුනා නෙවෙයි. මේ බෝධියේ ගැබ් වෙලා තියෙන ශක්තිය සුවිශේෂී වෙන්න හේතුව තමයි, බුදු පියාණන් වහන්සේ අනන්ත සංසාරයෙදි ලෝ සතුන් උදෙසා යහපත උදා කරන්න පාරමිතා පුරනකොට ලොව පහළ වූ හොඳම ඍෂිවරයා විදිහට, හොඳම වෛද්‍යවරයා විදිහට, හොඳම ජ්‍යොතිෂඥයා විදිහට... ආදී වශයෙන් විවිධ ස්වරූපයන්ගෙන් එකතු කළ ශක්තිය හෙවත් බෝධි සත්ත්ව ශක්තිය මේ ශ්‍රී මහා බෝධි ශාකයේ පිහිටීම. ඒ ශක්තියම තමයි උන්වහන්සේට බුදු වෙනකොට දවස් ගණනාවක් නිරාහාරව, හිසේ කැක්කුමක්, බඩේ කැක්කුමක් හෝ වා පිත් සෙම් අමාරුවකින්, හිරි වැටීමකින් හෝ තොරව බුද්ධිය උද්දීපනය කරන්න හේතු වුනේ.

**උන්වහන්සේම සඳහන් කරනවා, තමන් වහන්සේට ජය ශ්‍රී මහා බෝධිය පාමුල හැර වෙනත් තැනක බුදු වෙන්න බැරි බව.** ඒ වගේම ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේගෙන් ඉල්ලා සිටියා, ආනන්ද බෝධිය ළඟ සියළු සමාධිවලට සම වදින්න කියල. එතකොට උන්වහන්සේ දේශනා කරනවා, ආනන්ද **සියළු සමාධිවලට සම වදින්න පුළුවන් ජය ශ්‍රී මහා බෝධි පාමුල විතරයි කියල.** ඉතිං ඒ වගේ අති විසාල ශක්තියක් මේ බෝධියේ ගැබ් වෙලා තියෙනවා. උන්වහන්සේ බුදු වෙන්න පෙරත් ලෝක සත්ත්වයාට සෙතක් ශාන්තියක් කිරීමේ ගතිය සකසාගෙන තිබුන නිසා, බුදු වුනාට පසුවත් සෙතක් ශාන්තියක් සිදු කිරීමේ ගතිය මේ බෝධියට ආකර්ෂණය වෙලා තියෙනවා. උන්වහන්සේ පිරිත්වන්පාලත් ඒ ශක්තිය බෝධීන් වහන්සේ තුළ ගැබ් වෙලා තියෙනවා.

එතකොට ජය ශ්‍රී මහ බෝධිය කියන්නෙ බුදුන් වහන්සේට බුදු වෙන්න පහළ වෙච්ච බෝධිය විතරක් නෙවෙයි, උන්වහන්සේ ලෝකයට පහළ වෙලා බිහිවෙන ආර්ය මහා සඟ පරපුරටත් ඒ තත්ත්වයට පත් වෙන්න උපනිශ්‍ර ශක්තිය ලබාදෙන වස්තුවක්. ඒ බුද්ධ සාසනයේ නිවන් දකින පරපුරටම ශක්තිය විහිදුවන්න පාරමිතා බල එකතුවෙලා ගැබ්වෙච්ච සහජාත වස්තුවක්. මේ හේතු නිසා තමයි අනෙක් ශාකවලින් ජය ශ්‍රී මහා බෝධිය විශේෂ වෙන්නෙ.

කොටින්ම කියනව නම් බුදුන් වහන්සේගේ පාරමිතා බල ශක්තිය විශේෂයෙන් ගැබ් වෙලා තියෙන්නෙ මේ ජය ශ්‍රී මහා බෝධියේ. උන්වහන්සේගෙ අධිෂ්ඨාන බලයෙන් ඒ ශක්තිය බෝධීන් වහන්සේත් සමග නිවන් දකින දහම අතුරුදන් වෙනකල්ම විනාස නොවී පවතිනවා. ඒ කාලය තුළ ඊට අරමුණු වෙන අයට ඒ ශක්තිය ඇදල එනවා. එතකොට මේ ජය ශ්‍රී මහා බෝධිය මූලික කරගෙන බිහිවෙච්ච අනික් පරිවාර සහ අෂ්ඨඵල බෝධි ශාඛාවලත් ඒ ශක්තිය ඒ ඒ මට්ටම්වලින් ගැබ් වෙලා තියෙනවා.

ඉතිං මේ ශක්තිය අපිත් ඇදල ගන්න නම්, ඒ කියන්නෙ ඒ ගතිය ආකර්ෂණය කරගන්න නම්, අපිත් ඒ ගති ආකර්ෂණය කරගන්න පුළුවන් මට්ටමට මනස සකස් කරගත යුතු වෙනවා. ඒ කියන්නෙ සමනන්තර ප්‍රත්‍යය අපි සකස් කරගන්න ඕන. හරියට සංඥා කුළුණකින් කොච්චර සංඥා නිකුත් කළත් අපි ළඟ ඇහැසියක් (ඇන්ටනාවක්) නැතුව ඒ සංඥා ආකර්ෂණය කරගන්න බෑ වගේ, අපි ළඟ ඒ ගති නැත්නම් බෝධියේ තියෙන ඒ ශක්තිය අපි කරා ඇදල ගන්න විදිහක් නෑ. ඒ නිසා ඊට අනුකූල ගතිය අපේ අභ්‍යන්තරයෙන් සකස් කරගන්න ඕන. ඒක කරගන්න නම් බෝධියට උපහාර කිරීම්, බෝධීන් වහන්සේගේ ගුණ සිහිපත් කිරීම, අන් අයට උපකාර කිරීම, තමන් තුළ අලෝභ අද්වේශ අමෝහ ගුණ ඉස්මතු කර ගැනීම... ආදී යහපත් කටයුතු සිද්ධ කරන්න ඕන.

ඉතිං එහෙම කිරීමෙන් බෝධියේ ශක්තිය අපට ආකර්ෂණය කරගන්න හේතු සකස් වෙනවා. දන හෝ නොදන ඒකට තමයි බෝධි පූජා තියන්නෙ. නැතුව මේ නිකං ගහකට වඳිනව පුදනව නෙවෙයි. නමුත් මේ කාරණය දන්නෙ නැති අය අහනවා, ඔය ගහකට වැඳල කොහොමද ලෙඩ සනීප කරගන්නෙ, කරදරවලින් මිදෙන්නෙ කියල. මොකද භෞතිකවාදී අදහස් තියෙන අය බාහිරින් පේන දේ විතරයි කියන්නෙ. නොපෙනෙන පැත්ත ඒ අයට ගෝචර වෙන්නෙ නෑ. නමුත් මේ තියෙන සුවිශේෂී ගුණාංග දිහා බලල කල්පනා කළොත් පේනවා, බුදුන් වහන්සේට බුදු වෙන්න, ලෙඩ රෝග කරදරවලින් තොරව හොඳ මානසික මට්ටමකින් ඒ උතුම් කටයුත්ත කරගන්න උපකාර කළා වගේම, අපටත් ඒ යහපත් ගති සකස් කරල ඒ සුද්ධ ශක්තිය ආකර්ෂණය කරගෙන ලෙඩ රෝග සුව කරගෙන හොඳ මානසික මට්ටමකින් ඉන්න, සසර කෙළවර කරගන්න මේ ජය ශ්‍රී මහා බෝධියේ ශක්තිය හේතු වෙන බව.

නමුත් ඔය කිව්වට බෝධි පූජා තියල බෞද්ධ හැමෝගෙම ලෙඩ රෝග සනීප වෙන්නෙ නෑ කියල තව කෙනෙක් කියන්න පුළුවන්. බෞද්ධ හෝ අබෞද්ධ හෝ ඒක එහෙම වෙන්නෙ ඔවුන් පෙරදි ඒ ගති සකස් කරගෙන නැති නිසා. නමුත් දැන් වුනත් ඒ ගති සකස් කරගත්තොත් ඒ ශක්තිය ඇදිල එන්න හේතු වෙනවා. හැබැයි ඒ සියල්ල කර්ම ශක්තියට යටත්වයි සිද්ධ වෙන්නෙ. එතනදි බෝධීන් වහන්සේගෙ ශක්තිය උපනිශ්‍රය වීමක් විතරයි වෙන්නෙ.

ඊළඟට නිකම්ම කළු ගල්වලට වන්දනාමාන කරන්නෙ නැතුව චෛත්‍යයට වන්දනාමාන කරන්න කිව්වා. චෛත්‍යය හෙවත් චේතිය කියන්නෙ පිරිසිදු හිත තියපු තැන. ඒකෙ තැන්පත් කරල තියෙන්නෙ බුදුන් වහන්සේ ප්‍රමුඛ රහතුන් ☞

# පෙළ දහමින් නිවන් මග 04



මේ ලිපියෙන් කතා කරන්න බලාපොරොත්තු වෙන්නෙ, සංයුක්ත නිකායේ 1 වන කාණ්ඩයේ එන දේවතා සංයුක්තය කියන කොටසේ අඩංගු සූත්‍ර කීපයක් ගැන. මේ කොටසේ අඩංගු වෙන්නෙ විවිධ දේවතා කොට්ඨාස බුදුන් වහන්සේගෙන් අහපු ප්‍රශ්න සහ ඒවාට උන්වහන්සේ ධර්මානුකූලව දුන් පිළිතුරු. ඉතින් මේ සංයුක්ත නිකාය කියන්නෙ බොහොමයක් කෙටි සූත්‍ර තියෙන ත්‍රිපිටකයේ කොටසක්. ඒ කෙටි සූත්‍රත් ඒ ඒ පුද්ගලයන් සහ අවස්ථා අනුව වෙන් කරල තියෙන්නෙ. දෙවියන්, බුදුන් වහන්සේ සමග ඇති කරගත් කතා බස් තියෙන කොටසට තමයි දේවතා සංයුක්තය කියන්නෙ.

බොහෝ විට දෙදෙව් ලොවට අධිපති, එහෙම නැත්නම් තාවතිංසයයි චාතුර්මහාරාජිකයයි කියන දේවතා තල දෙකේ නායකයා වන සක් දෙවියන් ඇතුළු විවිධ දෙවියන් සමග ඇති වූ කතාබස් තමයි මේ කොටසේ තියෙන්නෙ. ඒ අතර මේ දේව තල දෙකෙන් පාලනය වන අනෙක් දේවතා කොටස්, ඒ කියන්නෙ වෘක්ෂ දේවතාවන්, භූමාටු දේවතාවන් සමග ඇතිවුන කතාබස් තමයි මේ ලිපියෙන් විග්‍රහ කරන කොටසේ තියෙන්නෙ.

එක්තරා අවස්ථාවක ලොව්තුරා බුදුන් වහන්සේ අනාථපිණ්ඩික ආරාමයේ වැඩ ඉන්න මොහොතක ඒ මුළු පළාතම බබලවමින් බුදුන් වහන්සේ හමුවෙන්න දේවතාවෙක් ආවා. ඇවිත් මෙහෙම ප්‍රශ්නයක් ඇහුවා.

**දෙවියන්** :- නිදුකාණන් වහන්ස, නුඹ වහන්සේ කෙසේ ඕඝය තරණය කළ සේක්ද?

**භගවත්හු** :- ඇවැත්නි, මම නො පිහිටමින් වෑයම්ද නොකරමින් ඕඝය තරණය කළෙමි.

**දෙවියන්** :- නිදුකාණන් වහන්ස, නුඹ වහන්සේ කෙසේ නම් නොපිහිටමින් වෑයම්ද නොකරමින් ඕඝය තරණය කළ සේක්ද ?

**භගවත්හු** :- ඇවැත්නි, මම යම් විටෙක පිහිටා සිටිම්ද එකල්හි ගිලෙමි. ඇවැත්නි, මම යම් විටෙක වෑයම් කෙරෙම්ද එකල්හි ඉල්ප යෙමි. ඇවැත්නි, මෙසේ මම නොපිහිටමින් වෑයම්ද නොකරමින් ඕඝය තරණය කෙළෙමි. ☞

---

වහන්සේලාගෙ ධාතූන් වහන්සේලා. ධාතූන් වහන්සේලා කියන්නෙ ඉතා විසාල ශක්තියක් ගැබ් වුන ශරීර කොටස්. බුදුන් වහන්සේගේ ධාතූන් වහන්සේලා ඒ අතරින් විශේෂයි. මොකද උන්වහන්සේ සතුව තිබ්ච්ච දෙතිස් මහා පුරිස ලක්ෂණවලටත්, මහා නුවණටත්, වීත රාගී වීත දෝසී වීත මෝහී ගුණයන්ටත් අනුරූප ශක්තිය ඒ තුළ ගැබ් වෙලා තියෙනවා. ඒ ධාතූන් වහන්සේලාගෙනුත් ලෝකෝත්තර බවට පත්වෙන්න, ලෞකික අභිවෘද්ධිය උදා කරගන්න හේතු සකස් කරගන්න පුළුවන්. ඒ සඳහා අපි තුළත් ඒ ශක්තියට අනුකූල ගති හදාගන්න ඕන. එතකොට තමයි ගතියට ගතිය ආකර්ෂණය වෙලා ගති ආකර්ෂණ මූල ධර්මය ක්‍රියාත්මක වෙන්නෙ.

නමුත් සමහර භෞතිකවාදීන් මේවාට නොයෙක් කතා කියන්න පුළුවන්. මොකද ඔවුන්ට අද පවතින තාක්ෂණික උපකරණවලින් මේ ශක්තිය හෝ ගුණයක් හෝ මැනගෙන විග්‍රහ කරන්න බෑ. නමුත් විද්‍යාවෙන් නැතුව විවෘත මනසකින් මේ දිහා බලන ඕනම කෙනෙකුට එහි තියෙන වටිනාකම දැකල ඒ අති සුද්ධ ගුණවලට අදාළ ශක්තිය ආකර්ෂණය කරගන්න පුළුවන්. ඒ නිසා ඒ සුද්ධ කිරණ ආකර්ෂණය කරගන්න පුළුවන් මට්ටමට හිත සකස් කරගෙන මෙලොව පරලොව යහපත අභිවෘද්ධිය උදා කරගන්න උත්සාහ කරන්න.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

සටහන

**විද්‍යාවේදී අමිත් සමරනායක**
**බෙල්ලන්තර**
**077 4256683**

**දෙවියන්** :- නොපිහිටමින් වෑයම්ද නොකරමින් ලෝකයේ තෘෂ්ණාව තරණය කළ කෙලෙස් නැසූ ක්ෂීණාස්‍රව බ්‍රාහ්මණයකු කලෙකින් දකිමි. (ඕඝතරණ සූත්‍රය - දේවතා සංයුක්තය - සංයුක්ත නිකාය 1 - 3 පිටුව)

දැන් මෙතනදි ඒ දෙවියන් උන්වහන්සේගෙන් අහපු මූලික පැනය තමයි, ඔබ වහන්සේ කොහොමද මේ ඕඝය තරණය කළේ කියල. මෙතනදි ඕඝය කියන්නෙ මොකක්ද කියල තේරුම් ගන්න ඕන. සාමාන්‍ය තේරුම නම් සැඩ පහර, එහෙම නැත්නම් රළ පහර. නමුත් දෙවියන් අවසානයේ කිව්ව කාරණයෙන් ඕඝය කියල අදහස් කළ දේ අපට තේරුම් ගන්න පුළුවන්. එතනදි ඕඝය කියල අදහස් කළේ තණ්හාව. එහෙම නැත්නම් ඒ දෙවියන් ඇහුවෙ, ඔබ වහන්සේ මේ තණ්හා සැඩ පහර කොහොමද ජයගත්තෙ කියල. තවත් විදිහකින් කියනව නම්, සංසාර සාගරය ඔබ වහන්සේ තරණය කළේ කොහොමද, ඉවුරට ආවෙ කොහොමද කියල. ඉතින් කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ දෙවියන් කොහොමද ඒක දැක්කෙ, මේ ඉන්නෙ කෙලෙස් නසපු උත්තමයෙක් කියල දන්නෙ කොහොමද කියල.

ඒ ඒ දෙවියන්ගෙ පුණ්‍ය සෘද්ධිය, එහෙම නැත්නම් පුණ්‍ය විපාකයේ බලවත්කම අනුව තව කෙනෙක්ගෙ සිත දකින්න හැකියාවක් තියෙනවා. ඒ දෙවියන්ගෙ ආයුස වැඩි නිසා බවුන් වඩන අය, එහෙම නැත්නම් දැහැන් වඩන අය ඕන තරම් දැකල ඇති. නමුත් මේ බ්‍රාහ්මණ උත්තමයගෙ දැහැන එහෙම නෙවෙයි. කිසිම දේකට ඇලෙන්නෙ නැතිව ඇති වෙච්ච දැහැනක්. වෙනද දැක්කට වඩා වෙනස්. ඒ හේතුවෙන් තීරණයක් අරගෙන ඇවිත් ඇහුව වෙන්නත් පුළුවන්. ඉතින් මේ දෙවියන් අහපු ප්‍රශ්නයට ලොව්තුරා බුදුන් වහන්සේ දුන්න පිළිතුර තමයි, නොපිහිටමින් වෑයම්ද නොකරමින් ඕඝය තරණය කළා කියන එක. හැබැයි මේ නොපිහිටමින්, වෑයම් නොකරමින් කියන එක දෙවියන්ට තේරුනේ නෑ. ඒකයි නැවතත් ඇහුවෙ එහෙම කොහොමද කළේ කියල.

ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ මේ කාරණය දෙවියන්ට පහදල දුන්නා. මම මේ තණ්හා සැඩ පහරේ පිහිටා සිටියා නම් ගිලෙනවා. පිහිටා සිටියා කියල අදහස් කළේ මොකක්ද? දෙවියන්ට තේරුන දේ අපි කොහොමද තේරුම් ගන්නෙ? අපි මෙහෙම හිතමු. ගඟක සැඩ පහරට විරුද්ධව පීනන කෙනෙක් අනෙක් පැත්තට යන්න නම් ඔහු ඒ සැඩ පහර යන පැත්තට යන්නෙ නැතුව පීනගෙන එන්න ඕන. නිකං හිටියොත් එක්කො ගිලෙන්න පුළුවන්, එහෙම නැත්නම් සැඩ පහර යන පැත්තටම ගහගෙන යන්න පුළුවන්. පිහිටා සිටින්නෙ නැතුව කියල අදහස් කළේ ඒකයි.

දැන් කෙනෙක් යමකට ඇලෙන්න ගිහින් ඒ මත්තෙම හිටියොත් ඒක ලබාගන්න දරන උත්සාහය උඩ සාධාරණ හෝ අසාධාරණ දේවල් කරන්න පුළුවන්. එක්කො අසාධාරණ දේ කරන්න ගිහින් නොයෙක් අපරාධ කරන්න පුළුවන්. ඒ අනුව ඔහුට ගැලවීමක් නැතිවෙන්න පුළුවන්. එහෙම නැත්නම් සාධාරණව ඒ දේ ලබාගත්ත නම්, ඒකට තියෙන ඇලීම නිසා ඒ දේ රැකගන්න උත්සාහ කරන්න පුළුවන්. ඒකට තවත් වෙහෙසෙන්න ඕන. ඒක හරියට අර සැඩ පහරට ගහගෙන යනව වගේ. ගිලෙන්නෙ නෑ. නමුත් ගහගෙන යනවා, ඉවුරට එන්න බෑ. ඉවුරට එන්න නම් සැඩ පහරෙ ඉන්නෙ නැතුව උත්සාහ කරන්න ඕන.

එතකොට වෑයම් නොකර කියල කිව්වෙ මොකක්ද? දැන් අර සැඩ පහරට ගහගෙන යන කෙනා ගිලෙන්නෙ නැතුව ඉන්න වෑයම් කරන්න ඕන. කලින් සැඩ පහර පැත්තට පිහිටල හිටපු නිසයි ගහගෙන ගියේ. ජීවිතය රැකගන්න නම් වෑයම් කරන්න ඕන. එහෙම නැත්නම් උත්සාහ කරන්න ඕන. තණ්හා සැඩ පහරත් ඒ වගේ. ඒ පැත්තට ගියොත්, ඒ පැත්තෙ පිහිටා සිටියොත් ඒ තුලම රැඳෙන්න වෑයම් කරන්න ඕන. හරියට කෙනෙක් යම් දෙයක් ලබා ගත්තම ඒ ලබාගත්ත දේ රැකගන්න වෑයම් කරන්න ඕන වගේ. හැබැයි දහම දැකල, හේතුව දැකල තණ්හාව දුරු කරපු කෙනෙක් සංසාර සැඩ පහර පැත්තට යන්නෙ නැති නිසා ඒ තුල ඉන්න වෑයම් කරන්න ඕන නෑ. ඒ සැඩ පහරෙන් එතෙර වෙන්න අවශ්‍ය ශක්තිය යොදවන්න පුළුවන්. කොටින්ම ඇලීම දුරු කරපු කෙනා ගැටීම දුරු කළා වෙනවා. ඇලීමයි, ගැටීමයි නැති තැන තණ්හා සැඩ පහරට හසු නොවී එගොඩ යන්න පුළුවන්. මේ දේ තමයි ලොව්තුරා බුදුන් වහන්සේ අර දෙවියන්ට පහදල දුන්නෙ.

ඒ වගේම මනුස්ස ලෝකයේ බුද්ධ සාසනය පැවතෙන කාලයක් තියෙනවා. දැන් මේ ගෞතම බුද්ධ සාසනය අවුරුදු 5,000 ක් මනුස්ස ලෝකයේ පැවතෙනව කියනවා. නමුත් දේව තලවල එහෙම නෙවෙයි. මොකද ඊට වඩා කාලයක් ඒ තලවල ආයුස තියෙනවා. ඊට හොඳ උදාහරණයක් තමයි, දෙව්වරු දෙන්නෙක් අතර ඇති වූ කතා බහක් ලොව්තුරා බුදුන් වහන්සේ උන්වහන්සේගෙ ශ්‍රාවකයන්ට මේ විදිහට පෙන්වා දීල තියෙනවා.

මහණෙනි, පෙර වූවක් කියමි. තව්තිසා වැසි එක්තරා දෙවියෙක් දිවසරන් (දිව්‍ය අප්සරාවන්) විසින් පිරිවරන ලදුයේ දිව්‍ය පංචකාම සම්පත්තියෙන් සමන්විත වූයේ ඉඳුරන් පිනවන්නේ ඒ වෙලාවෙහි මේ ගාථාව කීය.

යම් කෙනෙක් පිරිවර ඇති තව්තිසා වැසි දෙවියන්ගේ වාසස්ථාන වූ නඳුන් උයන නොදකිත්ද? ඔහු සැපය නොදනිත්.

මහණෙනි, මෙසේ කී කල්හි එක්තරා දෙවියෙක් ඒ දෙවියන්ට ගාථාවකින් පිළිතුරු දුන්නේ ය.

න ත්වං බාලේ විජානාසි
යථා අරහතං වචෝ
අනිච්චා සබ්බේ සංඛාරං
උප්පාදවයධම්මිනෝ
උප්පජ්ජිත්වා නිරුජ්ජන්ති
තේසං වූපසමෝ සුඛෝති

බාලය, තෝ "සියළු සංස්කාර අනිච්චය, ඉපදීම හා නැසීම ස්වභාව කොට ඇත්තාහ, ඉපිද නිරුද්ධ වෙත්. ඔවුන්ගේ සන්සිඳීම සැපය" යන රහතුන්ගේ වදන ලෙස නො දන්හියි. (නන්දන සූත්‍රය - දේවතා සංයුක්තය - සංයුක්ත නිකාය 1 - 11 පිටුව)

ඉතින් මෙතනදි තාවතිංසයේ හිටපු එක්තරා දෙව් කෙනෙක් තමන් ළඟ තිබිච්ච දිව්‍ය සැප සම්පත් ගැන අනෙක් දෙවියන්ට ඇහෙන්න කියපු දෙයක් තමයි පෙන්වල දුන්නෙ. මොකක්ද ඒ දෙවියන් කිව්වෙ? "බලපන් මගේ දේව සම්පත්තිය, මට ලැබිල තියෙන දේවල්, මේ මගේ දිව්‍යාංගනාවන්ගෙ පිරිවර, සැප කියල කවුරු හරි කියනව නම් මෙන්න සැප." ඒ වගේ අදහසක් තමයි කිව්වෙ. නමුත් එතන හිටපු තව දෙව් කෙනෙක් අර

දෙවියන්ට ආමන්ත්‍රණය කළේ බාලයා කියල. එතනදි බාලයා කියල කිව්වෙ වයසින් බාල කියන අදහසින් නෙවෙයි. වැඩිහිටියෙක් කොහොමටවත් පොඩි ළමයින්ගෙ සෙල්ලම් බඩු එක්ක සෙල්ලම් කරන්නෙ නෑ. නමුත් පොඩි ළමයින්ට ඒක හරි වටිනවා. කවුරු හරි ඒක ගත්තොත් අඬනවා, වැලපෙනවා, ඒකම ඕන කියල කියනවා. නමුත් වැඩිහිටියෙකුට ඒක ගානක්වත් නෑ. මේක පොඩි ළමයි ආස කරන දෙයක්, ඒ අය වයසින් මුහුකුරා ගියාම ඒවායේ ඇත්ත දැනගන්නව කියල වැඩිහිටියො දන්නවා.

ඉතින් බුද්ධ සාසනය අනුව බාලයා කියල හඳුන්වන්නෙ, අර පොඩි එකා සෙල්ලම් බඩුවලට ආස කළා වගේ මේ ලෝකයේ තියෙන පංච කාම වස්තූන්ට ඇලිල ගැලිල ඉන්න අයට, ඒවායේ ඇත්ත නැත්ත නොදන්න අයට. මොකක්ද මේ පංච කාමයේ තියෙන ඇත්ත? අනෙක් දෙවියන් කිව්ව දේ තුල ඒ පරම සත්‍යය තියෙනවා. කිව්වෙ ඔය දේවල් කැමති සේ පවත්වන්න බෑ, හටගෙන ගෙවිල වැනසිලා යන දේවල්, ඕවට ඇලෙන්නෙ නැතිව ඉන්න එකයි සැප කියල. එහෙම නැතුව ඕව නෙවෙයි සැප කියන්නෙ කියල කිව්වෙ නෑ.

ඉතින් මනුස්සයො අතරත් ඔහොම අදහස් තියෙන අය ඕන තරම් ඉන්නවා. "බලපන් මගේ ගේ කෝටි දෙකකටත් වඩා වටිනවා. කොහොමද මගේ මෝටර් රථය, ඒකත් කෝටියක් විතර වටිනවා." ඔය විදිහට තමන්ට තියෙන සැප සම්පත් කොහොමද කියල අනෙක් අයට කියන්න පුළුවන්.

ඉතින් අපි බලන්න ඕන, ඇත්තටම ඒ විදින්නෙ සැපක්ද කියල. දැන් ඔය කෝටි දෙකේ ගෙදරට උරුම දෙයක් තියෙනවා. ඒ ගෙදර ආලේප කරල තියෙන තීන්ත හැමදාම එහෙම තියෙයිද? එහෙම නැත්නම් දොර ජනෙල් එහෙම්ම තියෙයිද? නිකං හරි ගේ ඇතුලෙ ජල කාංදුවක් නිසා පුස් බැඳුනොත්, එහෙම නැත්නම් තෙතමනය නිසා බිත්තිවල පාසි බැඳුනොත් එහෙම මොන තරම් දාහයකට පත්වෙයිද? ඒ වෙලාවට කෝටි දෙකේ ගේ සැපද කියල ඇහුවොත් මොනව කියන්නද? ඔව් සැපයි කියයිද? එහෙම නැත්නම් ඒ මනුස්සය කොහේ හරි ගමනක් යන කොට වාහනය හැපුනොත්, දැන් කෝටියේ වාහනය සැපද කියල ඇහුවොත්, ඔව් සැපයි කියයිද?

දැන් මෙහෙම කිව්වම කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි අපිට ඒව පරිහරණය කරන්න එපා කියලද කියන්නෙ, හිඟන්නො වගේ ඉන්න කියලද කියන්නෙ කියල. ඒකෙන් අදහස් කළේ ඒක නෙවෙයි. කෙනෙකුට සැප සම්පත් ලැබෙන්නෙ පෙර කළ පින් නිසා. ආයුස, වර්ණ, සැප, බල, නුවණ ලැබෙන්නෙ ඒ ඒ අය කළ පින් කුසල්වල බලය නිසා. අන්න ඒ ලැබුන දෙයින් උද්දාම වෙන්න එපා කියලයි මේ කියන්නෙ. ඒවායේ යථා ස්වභාවය දැනගෙන පරිහරණය කරන්න කියලයි මේ කියන්නෙ.

මොකක්ද මේ යථා ස්වභාවය? හටගත්ත සියල්ලටම උරුම පොදු ස්වභාවයක් තියෙනවා. ඒක ජරාවට පත්වෙනවා, මරණයට පත්වෙනවා. එහෙම නැත්නම් ගෙවිල වැනසිලා යනවා. අනෙක් පැත්තෙන් බැලුවොත් කවුරු හරි කඩල බිඳල විනාස කරන්න පුළුවන්. ඒ එකක්වත් අපි කැමති දේවල් නෙවෙයි. මෙන්න මේ කාරණය දැනගෙන පරිහරණය කළාම, අපි ඒ වස්තුවට දීල තියෙන වටිනාකම අඩු වෙනවා. වටිනාකම 10% ක් අඩු වුනාද, ඒකට තියෙන ඇලීමත් 10% ක් අඩු වෙනවා. ඒ ඇලීම නිසා ඇතිවෙන ගැටීමත් ඒ ප්‍රමාණයෙන්ම අඩු වෙනවා. ඇලීම නැත්නම්, ගැටීම නැත්නම් ඉබේම එතන සුවයක් හට ගන්නවා. ඒ සුවය පංච කාමයෙන් ලැබෙන සුවයට වඩා වැඩියි. ඔන්න ඔය සුවය / සැපය තමයි අර දෙවියන් අදහස් කළේ. ඒකයි රහතුන්ගේ වදන කියල අනෙක් දෙවියන්ට පෙන්නුවෙ.

මෙතනදි දැන ගන්න ඕන අනෙක් වැදගත් කාරණය තමයි, මනුස්සයෙක් වුනත් දෙවියෙක් වුනත් අපි පුරුදු කරගත්ත ගති ලක්ෂණ කර්ම ශක්තියත් එක්ක සසරෙ අරන් යනව කියන එක. අපට හිතෙන්න පුළුවන්, දෙවියන් කියන්නෙ පිනට බර නිතරම පින් කරන්න කැමති කොටසක් කියල. නමුත් ඉහත දේශනාවෙන් පැහැදිලි වෙනවා, දෙවියො කියලත් වෙනසක් නෑ, මනුස්සයො වගේමයි තමන්ට ලැබුන දෙයින් උදම් වෙවී ඉන්නව මිසක් කරගන්න දෙයක් නෑ කියල. ඒ දෙවියන් තමන්ට ඒ තත්ත්වයට පත්වෙන්න ඕන තරම් දන් දෙන්න ඇති, කුසල් කරන්න ඇති, සිල් රකින්න ඇති, අනෙක් අයට උපදෙස් දෙන්නත් ඇති.

ඒත් දෙවියෙක් වෙලා ඉපදුනාට පස්සෙ මොකද කරන්නෙ? අර ලැබුන දෙයින් උද්දාම වෙවී ඉන්නවා. නැවතත් අර ජාතියේ පිනක් කුසලයක් කරගන්න උවමනාවකුත් නෑ. නමුත් තත්පරෙන් තත්පරේ ඒ ලැබුන දේ ගෙවිල වැනසිලා යනව කියල නිච්චියක් නෑ. හරියට තමන් මහන්සි වෙලා හරි හම්බ කරගත්ත දේ බැංකුවක දාල සියළු රස්සාවලින් අයින් වෙලා, බැංකුවෙන් සල්ලි අරගෙන වියදම් කර කර ඉන්න කෙනෙක් වගේ. අර සල්ලි ටික ඉවර වුනාම මොකද වෙන්නෙ? පාරට වැටිල හිඟා කන්න තමයි වෙන්නෙ. දෙවියන්ගෙ සම්පත් ලැබීමත් ඒ වගේ. ඉවර වුනොත් ඉවරයි. බොහෝ විට අපාගත වෙලා තමයි නවතින්නෙ. ඒ බව දේව චුති සූත්‍ර කිහිපයකම සඳහන් වෙනවා.

මහණෙනි, එසෙයින්ම යම් සත්ත්ව කෙනෙක් දෙව් ලොවින් චුතව දෙව් ලොව උපදිත් නම් ඔහු මඳහ. වැළි යම් සත්ත්ව කෙනෙක් දෙව් ලොවින් චුතව නිරයෙහි, තිරිසන් යෝනියෙහි, ප්‍රේත විෂයෙහි උපදිත් නම් මොහුම ඉබොහෝහ වෙත්... වීර්ය කටයුතුයි. (සංයුක්ත නිකාය - මහා වග්ගය - <u>දේව චුති සූත්‍ර</u>)

ඒ අනුව අපිත් හිතට ගන්න ඕන, ලැබුන ආයුසයෙන්, බලයෙන්, වර්ණයෙන්, සැපයෙන්, නුවණින් සසර කෙළවර කරන්න උත්සාහ කරන්න. පුළුවන් හැම වෙලාවකම අහගත්ත ධර්මය මෙනෙහි කරගෙන සසර කෙළවර කරගන්න උත්සාහ කරන්න ඕන. පරම සැපය වූ නිවන කරා යන්න උත්සාහ කරන්න ඕන.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග සංයුක්ත නිකාය 1 - දේවතා සංයුක්තය ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**

# යුතුකම් වගකීම් සහ සුරතල් කිරීම් දහම් ඇසින්



ජීවිත කාලයෙදි බොහෝ කොට ඇසුරු කරන ලද, බහුලව වඩන ලද සංඛාර උපාදාන කරගෙන මතු භවයක් සකස් වෙනවා. නමුත් දරුවන් සුරතල් කිරීම, නිවෙස්වල සුරතලයට ඇති කරන සතුන් සුරතල් කිරීම මතු භවයක් සකස් වෙන්න තරම් බලවත් කාරණයක් නෙවෙයි කියන අදහසක් අහන්න ලැබෙනවා. බල්ලෙක් සුරතල් කළාට බල්ලෙක් වෙලා උපදින්නෙ නෑ, එහෙම දහමක් බුදු හාමුදුරුවො දේශනා කරල නෑ, අජ ව්‍රත, ගෝ ව්‍රත වගේ ව්‍රත සමාදාන වෙලා සංඛාර වැඩුවොත්, හරකෙක් වගේ වඩන සංඛාර උපාදාන කළොත් හරකෙක් වේවි, බල්ලෙක් වගේ සංඛාර උපාදාන කළොත් බල්ලෙක් වේවි, ගෙදර හදන බල්ලෙක් සුරතල් කළාට තිරිසන් අපායෙ උපදින්න සිද්ධ වෙන්නෙ නෑ... ආදී වශයෙන් තමයි අහන්න ලැබෙන්නෙ.

බලු සංඛාර බහුලව වඩපු බලු තාපසයෙක් පිළිබඳ විස්තරයක්, දීඝ නිකායේ 3 වෙනි කාණ්ඩයේ, පාථික සූත්‍රයේ 13 වන පිටුවේ සඳහන් වෙනවා. සුනක්ඛත්ත කියන භික්ෂුව, මේ බලු තාපසයා රහතන් වහන්සේ කෙනෙක් කියල හිතපු හිත දිවැසින් දැක්ක බුදුන් වහන්සේ, කෝරක්ඛත්තිය කියන මේ බලු තාපසයා මරණින් පස්සෙ හැමට නිහීන වූ කාලකඤ්ජ නම් අසුර නිකායේ උපදිනව කියල දේශනා කරල තියෙනවා. ඒ කියන්නෙ බලු සංඛාර උපාදාන කරන්නෙ ව්‍රත සමාදානයක් හැටියට නම්, ඒක නිවන් දකින මගක් කියන මිථ්‍යා දෘෂ්ටියක් එනවා. එතනදි පුද්ගලයා දෘෂ්ටිගත වෙලා ඒකෙන් විමුක්තියක් ලැබෙනව කියල හිතාගෙන තමයි ඒ වගේ ව්‍රත සමාදන් වෙන්නෙ. මිථ්‍යා දෘෂ්ටියක පිහිටල කටයුතු කරන්නාට ඊළඟ භවය නිරය හෝ තිරිසන් යෝනිය වෙනව කියලයි දහමෙ සඳහන් වෙන්නෙ. මේ සූත්‍ර දේශනාව පසුව ලියා ගත් අටුවා කථාවක් කියල කියන්න බෑ. ඒ නිසා ව්‍රත සමාදන් වුනා හෝ නොවුනා හෝ බහුලව වඩන ලද බලු සංඛාර හේතුවෙන් බල්ලෙක් වෙනවටත් වඩා නරක දුකකට වැටෙන අසුර නිකායෙ උපදින්න පුළුවන් බව මේ සූත්‍ර දේශනාව අනුව අපට පිළිගන්න සිද්ධ වෙනවා.

ඊළඟට ගෝ ව්‍රත සමාදානයෙදි ඒ පුද්ගලයා තනිකරම ගවයෙක් වගේ තමයි හැසිරෙන්නෙ. ඔළුව කඳ මිනිස් වුනාට හරකෙක් වගේ වැඩ කරන්නෙ. ඒ කියන්නෙ ඇඳුම් ගලවල නිර්වස්ත්‍රව ඔළුවට අං තට්ටුවක් බැඳ ගන්නවා. ඊළඟට අත් දෙකයි කකුල් දෙකයි බිම තියාගෙන ගවයෙක් වගේ තණකොළ කනවා, පුනක්කු බොනවා, ගවයින්ගෙන් කිරි බොන්න යනවා. මේ වගේ වැඩ පිළිවෙලක් කළාම විමුක්තියක් ලැබෙනව කියන දෘෂ්ටියකින් තමයි ඒව පුරුදු පුහුණු කරන්නෙ. ඉතිං ඒක මහ මුළාවක්. නමුත් එදා එහෙම දෘෂ්ටිගත වෙච්ච අයත් හිටියා. ඒකම තමයි හරි කියල ඒ ව්‍රතයම සමාදන් වෙනවා. එහෙම කෙනෙක් ඒ දෘෂ්ටියේ ඉඳල ඒකම උපාදාන කරල ඒ හේතුවෙන් ගව භවයක් සකස් වෙලා ගවයෙක් විදිහට උපදින්න පුළුවන්. එතකොට ගවයෙක් හෙවත් හරකෙක් බවට පත්වෙන වැඩපිළිවෙල තමයි සමාජයේ සාරධර්ම හෙවත් හරය කා දැමීම. ඉතිං මේ කියන ගව ව්‍රත සමාදානයත් හරය කා දැමීමට අයිතියි. මොකද එතනදි පුද්ගලයා දෘෂ්ටිගත වෙලා කී දෙනෙක් නම් රවට්ටනවද? සමහරු ඒ අයට රහතන් වහන්සේලා කියලත් රැවටෙනවා. නිකං මිනිස්සු නම් කෙලෙස් තියෙනවනෙ, කෙලෙස් තියෙන අයට ඔය වගේ ඉන්න පුළුවන්ද කියල ඒ අය රැවටෙනවා. ඉතිං මහ විනාසයක් කරගන්නෙ.

අග්ගඤ්ඤ ප්‍රඥප්ති කථාවේ සඳහන් වෙන විදිහට, මේ ලෝකය ආරම්භ වෙන කාලෙදි ආභස්සර බ්‍රහ්ම ලෝකයෙන් චුත වෙන බ්‍රහ්ම පිරිස, මේ ලෝකෙ බ්‍රහ්ම කායික මනුස්සයින් හැටියට ස්වයං ප්‍රභා ආලෝකය විහිදුවමින්, සිත්කලු වස්ත්‍රාභරණ ඇතිව, ප්‍රීතියම ආහාර කරගෙන, අහසේ සැරිසරන පිරිසක්. ඒ කාලෙ හිරු සඳු, ග්‍රහ තාරකා, ගහ කොළ, සතා සිවුපාවුන්, ගංගා ඇල දොළ කිසිවක් නෑ, සෘතු සංවත්සර නෑ. බොහෝ කාලයකට පස්සෙ සක්වළ සිසාරා පැවති මහා දිය කඳ මතුපිට, උණුසුම් කිරි මත නිවෙන්නා වූ කිරි යොදයක් වගේ... සුගන්ධවත් රස පොළොව පහළ වුනා කියල සඳහන් වෙනවා. (දීඝ නිකාය 3 වෙනි කාණ්ඩය - අග්ගඤ්ඤ සූත්‍රය, 145 පිටුව)

මේ විදිහට ලෝකය ආරම්භයේදි හිටියෙ නැති තිරිසන්, ප්‍රේත, අසුර ආදී සත්ව කොට්ඨාස පසුව පහළ වුනේ කොහොමද කියල හිතල බලන්න ඕන. ලෝක විනාසයෙදි සත්ත්වයා ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ඉපදිලා තියෙන්නෙ කෙලෙස් ප්‍රහීන කරල නෙවෙයි. සතර අපාය ඇතුළු සියළු පහත් ලෝක තල විනාස වෙනකොට ඒ ලෝකවල ඉන්න සත්ත්වයින්ට ☞

උපාදාන කරන්න දෙයක් නැති නිසා ධර්මතාවයෙන්ම චුත වෙලා ආභස්සර බ්‍රහ්ම ලෝකයේ උප්පත්තිය ලබනවා.

ඒ කියන්නෙ මේ හැම සත්ත්වයෙක්ම ජීවිත ආසාව නිසා තමන් ඉපදිච්ච ලෝකය ප්‍රියමනාපයෙන් අල්ලගෙන ඉන්නෙ. නිරය ගත්තත්, තිරිසන් අපාය ගත්තත් එහෙමයි. දුක් විඳින එක වෙනම කතාවක්. නමුත් වෙන විකල්පයක් නැති නිසා අල්ල ගත්ත එක අතහරින්න කැමති නෑ. ඒ අය ඒ ලෝකවලට මුලින්ම යම් කිසි ඇලීමක් තියෙන නිසයි ඒ තත්ත්වයට පත් වෙලා ඉන්නෙ. දැන් ලෝක විනාසයෙදි තමන් ප්‍රියමනාපයෙන් අල්ලගෙන ඉන්න වස්තුව ගිනි ගෙන විනාස වෙනකොට ඒ සත්ත්වයින්ට අපරාපරීය වේදනා කර්ම අරමුණු වෙනවා. ඒ කියන්නෙ සසරෙ කවදහරි කරපු කර්ම, ඕන වෙලාවක ඇදිල එන්න පුළුවන් කර්ම. දැන් ඒ ස්ථානයේ ඉන්න බැරි නිසා තවත් ඇලෙන්න තැනක් හොයනවා. එතකොට ඊට ඉහළින් තියෙන තවත් ලෝකයක් හම්බ වෙනවා. හැබැයි ඒ ලෝකය කලින් එකට වඩා මෘදු එකක්. අර තරම් රළු නෑ. නමුත් කරන්න දෙයක් නෑ, නැතිකමට ඒක අල්ල ගන්නවා. අල්ල ගත්තම ජීවිතය ඒ නිමිත්තට අනුකූලව හැඩ ගැහෙනවා. දැන් ඒ ලෝකයත් ගිනිගෙන විනාස වෙනවා.

එහෙම ගිහින් අට මහ නිරය, ඔසුපත් නිරය, තිරිසන් අපාය... ආදිය පහු කරගෙන උඩට එනකොට මිනිස් කයේ ස්වභාවයට පත්වෙනවා. එතනින් නැවතත් යටපත් වෙලා තිබ්බ ගති අරමුණු වෙනවා. හැබැයි ඒ වෙනකොට මනුස්ස ලෝකය ඇතුළු මහ පොළවත් විනාස වෙන්න පටන් ගැනීම නිසා එතනත් ඉන්න බැරිව යනවා. ඊළඟට ඔය විදිහට දේව තල හයටත් යනකොට එකින් එක ඒ තලත් විනාස වෙනවා. ඊළඟට බලනකොට හිස් අවකාසයක් පේනවා. හැබැයි මුකුත් අල්ල ගන්න දෙයක් නෑ. අන්න ඒ විදිහට තමයි ජේන්න පටන් ගන්නෙ. එතකොට දේව තල 6න් පස්සෙ ඊළඟට පළවෙනි ධ්‍යාන තලය එනවා. ඒකෙ තියෙන බ්‍රහ්ම ලෝක 3 ටත් එකින් එකට යනකොට ඒවත් විනාස වෙනවා. ඊළඟට එන්නෙ දෙවන ධ්‍යාන තලය. ඒකෙත් පළවෙනි, දෙවෙනි බ්‍රහ්ම තලවලට ගිහින් ඒවත් විනාස වෙනකොට ඊළඟට තමයි ඒ ධ්‍යාන තලයෙම තියෙන ආභස්සර බ්‍රහ්ම ලෝකය අහුවෙන්නෙ. දැන් ඒක විනාස වෙන්නෙ නැති නිසා එතන නවතිනවා. මේ විදිහට කොටසින් කොටස විනාස වෙනකොට ඊළඟට තියෙන එක අල්ල ගන්නවා.

එතකොට මේ ලෝක විනාසයෙදි ලෝකාන්තරික නරකය හැර ආභස්සර බ්‍රහ්ම ලෝකයෙන් පහළ තියෙන සියළු ලෝක විනාස වෙනවා. හැබැයි ඒක එක පාරටම ක්ෂණයකින් සිද්ධ වෙන දෙයක් නෙවෙයි. අන්තඃ කල්ප 20 ක් තරම් දීර්ඝ කාලයක් අරගෙන සිද්ධ වෙන දෙයක්. ඒ නිසා ඒ පහළ ලෝකවල ඉන්න සත්තු එක පාරටම ක්ෂණයකින් ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ගිහින් ඉපදෙන්නෙ නෑ. අර විදිහට පියවරෙන් පියවර උඩට ඇවිත් තමයි ආභස්සරයේ උපදින්නෙ. මහා කල්පයකට සැරයක් ඔය වගේ ලෝක විනාසයක් සිද්ධ වෙනවා. එතකොට ඒ සියළු සත්තු ආභස්සර බ්‍රහ්ම ලෝකයේ ඉපදෙන්නෙ ඒ ඒ සත්ත්වයන්ට තිබ්බ්ච සියළු කර්ම ශක්තිය ගෙවිල ඉවර වෙලා නෙවෙයි. ඒ ලෝක විනාස වෙනකොට ඒවායේ ඉන්න අරමුණක් අහුවෙන්නෙ නැති නිසා. වෙනත් විදිහකින් කියනව නම් සමනන්තරය නැති නිසා. එතකොට අනන්තරයට හිටින්න බෑ. ඒ නිසා ඊළඟට ඉතුරු වෙලා තියෙන ලෝකය අල්ල ගන්නවා. එතකොට අර කලින් ලෝකවලදි තිබ්බ්ච කෙලෙස් යටපත් වෙනවා. ඒ කෙලෙස් ක්‍රමයෙන් නැවත මතුවෙලා, පව් කරල දුගති සංඛාර උපාදාන වෙලා තමයි මේ නරක, තිරිසන්, ප්‍රේත, අසුර... ආදී ලෝක නැවතත් නිර්මාණය වෙලා තියෙන්නෙ.

රූප රාගයෙන් උද්දාම වෙච්ච තැනක් තමයි ආභස්සර බ්‍රහ්ම ලෝකය කියන්නෙ. හැබැයි ඒ ලෝකයත් කැමති සේ නෑ. එකිනෙකා අතර උද්දාමය, මාන්නක්කාරකම තියෙනවා. ඒ අය යම් කිසි විදිහකින් ලෝකයට ඇලීමක් තියෙන නිසා තමයි ඒ තත්ත්වයට පත්වෙලා ඉන්නෙ. ආභස්සර ලෝකයේ ඉඳන් ප්‍රථම ධ්‍යාන තලයට ආපු බ්‍රහ්මයින් පෘථිවි තලය නිර්මාණය වෙනකොට සුගන්ධවත් රස පොළොවට ගිජු වෙලා, පඨවි කියන තද ගති තියෙන ඒ ආහාරය රස තෘෂ්ණාවෙන් ගන්න පටන් ගත්තා. ඒ හේතුවෙන් තද ගතිය වැඩි ශරීර තියෙන, අහසින් යන්න බැරි මිනිස්සු බවට පත්වුනා. තවත් බොහෝ කාලයක් ගතවෙද්දි ප්‍රාණඝාත, අදත්තාදාන ආදී දුෂ්චරිත කිරීම් වැඩි වෙලා තිරිසන් සත්තු පහළ වුනා. අවිද්‍යාවෙන් රසයට බැඳිල (රස තෘෂ්ණාව නිසා) බ්‍රහ්මයින් මනුස්ස බවට පිරිහිලා, මනුස්සයා තව දුරටත් පිරිහිලා තිරිසන් බවට පත්වුනා කියන කාරණය පැහැදිලියි. ප්‍රේත ගති නිසා ප්‍රේත බවටත්, අසුර ගති නිසා අසුර බවටත්... ආදී වශයෙන් දුගති උප්පත්ති ලැබුවා.

මේ අනුව ලෝක ආරම්භයෙදි හිටපු නැති සත්තු අද ඉන්නෙ, එදා හිටපු බ්‍රහ්මයින්ගෙ පිරිහීමෙන් බව පිළිගන්න සිද්ධ වෙනවා. නැත්නම් මහා බලවත් දෙවියෙක් තිරිසන් සත්තු මැව්ව කියල හේතුඵල නැතිව කියනව නම්, බුදුන් වහන්සේ කෙරෙහි විස්වාසයක්, සද්ධා මාත්‍රයක් නැති කෙනෙක් වෙන්න ඕන. බ්‍රහ්මයෙක් මනුස්ස වුන ක්‍රම රටාව තමයි අවිද්‍යාවෙන් රසයට (රස තණ්හාවට) බැඳීම. මනුස්සයෙක් තිරිසන් බවට පත් වෙන ක්‍රම රටාවත් අවිද්‍යාවෙන් පංච කාම ආස්වාදයට තණ්හාවෙන් බැඳිල දස අකුසල් කිරීම.

අද ලෝක ජනගහනය කොච්චරද කියල ගැනල බැලුවොත් ක්ෂුද්‍ර ජීවීන්, කෘමි සතුන් ප්‍රමාණය විතරක් මනුස්ස ජනගහනය වගේ කෝටි ප්‍රකෝටි ගණනක් වෙනවා. **දුගති ලෝකවල ඉන්න සියළු සත්තු එකතු කරල බැලුවොත්, මනුස්ස කියන කොට්ඨාසය උපමා වශයෙන් ගත්තම, අත්ලට එකතු කරගන්න පුළුවන් තරම් ඉතාම සුළු පිරිසක් බව පැහැදිලියි.** ලෝකය ආරම්භ වෙලා පවතින්නෙ අන්තඃ කල්ප 20 යි. මේ මහා කල්පයේ බුදුවරු පස් නමක් පහළ වෙන නිසා මහා භද්‍ර කල්පයක් කියනවා. දැනට බුදුවරු 4 නමක් පහළ වෙලා පිරිනිවන් පාල තියෙනවා. ඒ කියන්නෙ අන්තඃ කල්ප 20 න් 15-16 ක් විතර ගෙවිල අවසන්. මේ තරම් දීර්ඝ කාලයක් ක්ෂුද්‍ර ජීවීන් බවට පත් නොවී, මනුස්ස වෙලා ඉන්න තරම් අපි වාසනාවන්ත වෙච්ච එකත් පෙර අපි කරපු මහා පින්කමක සැප විපාකයක්. ඒකත් එක්තරා හේතු වාසනාවක්. මේ සසර ගමනෙදි සුගති ලෝකවල උපදින්න ලැබෙන්නෙ එහෙම අවස්ථාවලින්.

මේ විදිහට පංච කාම ආස්වාදයට ගැති වෙලා පිරිහුන සත්ව පිරිස ගැන අදහස් මාත්‍රයක්වත් ගන්න පුළුවන් නම්, සසර මොන තරම්

භයානකද කියන කාරණය පැහැදිලි වේවි. ඒ වගේම නිරය, තිරිසන්, ප්‍රේත, අසුර ලෝකවල ඉන්න සත්ව පිරිස එක්ක මනුස්ස පිරිස සංසන්දනය කරල බැලුවොත්, මනුස්සයින් පංච කාම ආස්වාදයට ඇලිල ගැලිල කටයුතු කරන ආකාරය සිහි නුවණින් විමසල බැලුවොත්, මනුස්සයින් අතරින් නිය පිටට ගත් පස් ටිකක් තරම් සුළු පිරිසක් සුගතියටත්, මහ පොළොවෙ පස් තරම් පිරිසක් දුගතියටත් යන බව බුදුන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ, බුදු ඇසින් දැකලම තමයි කියන කාරණයත් පැහැදිලි වේවි. ඒ අනුව කය, වචනය සංවර කර ගැනීමේ වැදගත්කමත් හිස් මුදුනින් පිළිග නීවි.

අද බටහිර රටවල් පවා පරීක්ෂණ, නිරීක්ෂණ කරල ප්‍රේත, භූත ලෝක තියෙන බව පිළි අරගෙන තියෙනවා. මනුස්ස ලෝකෙදි යහපත් ගුණ දහම්වල නොපිහිටා, දුසිරිතෙන් ආස්වාද විඳීමේ හේතු ඵලයක් හැටියට ඒ ඒ ලෝකවල ඉපදිලා තියෙන බව බුදු දහම අනුව පැහැදිලි වෙනවා. සමහර උදවිය පිළිගන්න කැමති නැති වුනාට, යම් කෙනෙක් මැරෙන මොහොතෙදි චුත වෙලා වෙනත් භවයක ඉපදුනේ නැත්නම්, මනුස්සයෙක් විදිහට බොහෝ කොට පුරුදු කරපු සංඛාර හේතුවෙන් ඒ මනුස්ස ස්වරූපයෙන්ම, ඒ පුරුදු ඇඳුම් පැළඳුම් ඇතිවම, සියුම් ශරීරවලින් හැසිරෙන ගන්ධබ්බ පිරිස් විදිහට ජීවත් වෙන ගන්ධබ්බ ලෝකයක් තියෙනවා. ඒ වගේම ආටානාටිය සූත්‍ර දේශනාව කියන්නෙ බුදුන් වහන්සේ අනුමත කරපු දේශනාවක්. ...ගන්ධබ්බෝවා ගන්ධබ්බීවා ගන්ධබ්බ පෝතකාවා ගන්ධබ්බ පෝතිකාවා... ආදී වශයෙන් ගන්ධබ්බ ලෝකයේ පවුල් පිටින් ගන්ධබ්බ පිරිස් ඉන්න බව පැහැදිලි වෙනවා. මෙබඳු පිරිස් ඉන්න බවත්, ඒ අයගෙන් සමහර අය මනුස්සයින්ට කරදර හිරිහැර කරන බවත්, ඒ කරදරවලින් සහනය ලබාගන්න ආටානාටිය සූත්‍රය ඉගෙන ගන්න කියලත් සූත්‍ර දේශනා තුළින්ම බුදුන් වහන්සේ අනුමත කරල තියෙනවා.

කරුණු මෙච්චර පැහැදිලිව තියෙද්දීත්, ආදීනවය නොදන්නාකම නිසා වැරදි, දුසිරිත්, පව්කම් කරන ලෝක සත්ත්වයාට, ''මේ ලෝකෙ ජීවත් වෙලා ඉන්න කාලෙ වගේ ඇඳුම් ඇඳගෙන, මේ ලෝකෙ ජීවත් වෙලා ඉන්න කාලෙදි කරපු දේවල් කරන, එහෙම භූත ලෝක තියෙන්නෙ කොහේද, එහෙම එකක් බුදු දහමෙ නෑ...'' ආදී වශයෙන් දහම කියල තමන්ගෙ මත ප්‍රකාශ කිරීම ලෝකයාට කරන මහා අපරාධයක්. ඒක පරලොවක් නෑ කියන දස වස්තුක මිත්‍යා දෘෂ්ටියට අයිතියි. ඒ වගේම යම් සංඛාරයක් බහුලව වැඩුව පමණින්ම, ඒ සංඛාරයට අනුරූපව ඊළඟ භවය සකස් වෙනව



කියන්නත් බෑ. මොකද තමන්ගෙ තිබ්ච්ච මිත්‍යා දෘෂ්ටිවලින් ඉවත් වෙලා සම්මා දිට්ඨියට පත් වුනාම, පෙර තිබ්ච්ච දෘෂ්ටි වෙනස් වෙලා තීරණ ගන්නෙ සම්මා දිට්ඨියෙන්. **බොහෝ කාලයක් මත්පැන් පානයට ඇබ්බැහි වෙලා හිටපු සරකානි කියන ශාක්‍යයා ජීවිතේ අන්තිම කාලෙදි බුදුන් වහන්සේගෙන් බණ අහල සෝවාන් වුනා.** එතකොට ඔහු මත්පැන් පානය කළා කියල දුගතියට ගියේ නෑ, මරනින් මතු දිව්‍ය ලෝකෙ ඉපදුනා.

යම් කෙනෙක්ගෙ මරණ මොහොත ආසන්නයෙදි කර්ම, කර්ම නිමිති, ගති නිමිති පහළ වෙන බව පැහැදිලි වෙන අවස්ථාවක් ධර්මයේ සඳහන් වෙනවා. මස් වෙළඳාමට ඌරන් මරපු චුන්ද කියන ඌරු ඝාතකයා ඌරන් ඇති දැඩි කිරීම, මැරීම බොහෝ කාලයක් කර ගෙන ගියා. අන්තිමට තමන්ගෙ මරණ මොහොත ළඟා වෙද්දි ඌරෙක් වගේ වේදනාවෙන් විලාප තියන්න ගත්තා. මේ හඬ අහගෙන හිටිය බුදුන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට කතා කරල, චුන්ද සූකරට කර්ම නිමිති, ගති නිමිති පහළ වෙලා ඌරෙක් වගේ අඬන හැටි ඇහෙනවද කියල විමසනවා. එතකොට ඒ හඬ අහගෙන ඉඳල ආනන්ද හාමුරුවො අහනවා, ඔබ වහන්සේ ඔහුට පිහිට වෙන්න වැඩියෙ නැත්තෙ ඇයි කියල. මම ඔහුට බණ කියන්න ගියා නම් ඔහු ධර්මයට නිගරු කරල මටත් නිගරු කරල, ඒ අකුසලයෙන් අට මහ නිරයට යන්න වෙනවා, නමුත් දැන් ප්‍රාණ ඝාත අකුසලය නිසා ඔහු ඔසුපත් නිරයක උපදිනව විතරයි කියල බුදුන් වහන්සේ දේශනා කළා.

ඒ නිසා එකිනෙකා කෙරෙහිත් විරුද්ධ පාක්ෂිකයන් කෙරෙහිත් ද්වේශයෙන්, තමන්ගෙ පාක්ෂිකයන් කෙරෙහි රාගයෙන් සිතිවිලි ක්‍රියා වඳන් බොහෝ කොට මෙහෙයවන යම් කෙනෙක් ඉන්නවනම්, මෝහාන්ධකාරය නිසා විපාකය නොදැක්කට ඒ අයට මරණාසන්න මොහොතෙ ඒ කර්ම, කර්ම නිමිති, ගති නිමිති පහළ වෙනවා. හැබැයි ඒ භවයට හිමි කර්ම ශක්තිය ඉවර නැත්නම්, ඒ කර්ම ශක්තිය ආධාර කරගෙන වෙනත් උපතකට යන්නෙ නැතිව ගන්ධබ්බ ලෝකෙ ඉන්න සිද්ධ වෙනවා.

එතකොට සද්ධා, සීල ගුණ වඩාගෙන ජීවත්වෙන හැම දෙනාම සුගතිගාමී වෙනවද කියන කාරණයත් හොඳින් පැහැදිලි කරගන්න ඕන. අමූලිකා සද්ධා, ආකාරවතී සද්ධා කියල සද්ධාව දෙයාකාරයි. අමූලිකා කියන්නෙ මුලක් නෑ කියන එක. පොළොවෙ මුලක් ඇදෙන්නෙ සාරයක් තියෙනව නම් විතරයි. සාරයක්, වටිනාකමක් තියෙනව කියල දැකල ඒ ගැන පැහැදීමෙන් සද්ධාවක් උපදිනව නම්, යම් කිසි ආකාරයක් දැකලයි ඒ සද්ධාව උපදින්නෙ. බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ දැකල තෙරුවන් කෙරෙහි සද්ධාව ඇතිව සිල් ගුණ වැඩුව නම් ඒ අය සුගතිගාමී වෙනවා.

නමුත් සමහරු එක පැත්තකින් වෙහෙර විහාරවල පුද පූජා උත්සව ආදියට නොමසුරුව වියදම් කරනවා, දාන මාන දෙනවා. හැබැයි

අනෙක් පැත්තෙන් පැය 24 ☞

න් වැඩි කාලයක් ගතවෙන්නෙ නවවිධ අගාධවලට වැටි වැටී, රාගයෙන් ද්වේශයෙන් මෝහයෙන් දැවි දැවී රත් වෙලා. මට අහවලා අවැඩ කළා, දැන් අවැඩ කරනවා, ඉදිරියටත් අවැඩ කරයි, මගේ මිතුරට අවැඩ කළා, දැන් අවැඩ කරනවා, ඉදිරියටත් අවැඩ කරයි, මගේ සතුරට උදව් කළා, දැනුත් උදව් කරනවා, ඉදිරියටත් උදව් කරයි... ආදී වශයෙන් අගාධයට වැටිල ඉන්න යම් පිරිසක් තුළ රාග, ද්වේශ, මෝහ වැඩෙනවද, එබඳු පිරිසක් සුගතිගාමී වෙන බව බුදු දහමට එකඟව පිළිගන්නෙ කෙහොමද කියල නුවණින් විමසල බලන්න ඕන.

අවුරුදු 40 න් පස්සෙ සාමාන්‍යයෙන් අපිට උපැස් පළඳින්න සිද්ධ වෙනවා. ඒ ඇයි? ඊට කලින් පැහැදිලිව දැකපු දේවල් ඇස් දුර්වල වෙනකොට පේන්නෙ නැතිව යනවා. ඒකට හතළිස් ඇඳිරිය කියලත් කියනවා. මේ වගේ රාග, ද්වේශ, මෝහයන්ගෙන් කිළිටි වුන මනස දුර්වල වෙනකොටත් මුලින් දැකපු දේවල් දකින්න බැරි වෙනවා. ලෝක ආරම්භය විස්තර කරන අග්ගඤ්ඤ සූත්‍ර දේශනාව අනුව, විවිධ දෘෂ්ටි දරාගැනීම නිසා අද විවිධ අත්බැව් ලබාගෙන ඉන්න හැම දෙනාමත්, ලෝක ආරම්භයේදි තමන්ගෙම කයින් ආලෝකය විහිදුවාගෙන, සිත්කලු වස්ත්‍ර ඇඳගෙන, ප්‍රීතිය ආහාර කරගෙන අහසින් ගිය, ලිංග භේදයක් නැති බ්‍රහ්ම පිරිසක්. සද්ධාවෙන් බුද්ධ දේශනාව පිළිගන්නව නම් මේ ටිකත් පිළිගන්න වෙනවා.

කුඩා ළදරුවො මව් කුසක හැදිල වැඩිල මේ ලෝකෙට ඉපදිලා, මව් ඇකයෙ ඉඳගෙන මව් කිරි උරා බීල වැඩෙන හැටි අපි හැම දෙනාම දැකල තියෙනවා. ඒ දැකපු දේ අනුව, අපිත් ඒ විදිහට මව් කුසක හැදිල වැඩිල මේ ලෝකෙට ඉපදිලා, මව්ගෙන් කිරි උරා බීල වැඩුන අය හැටියට විශ්වාස කරනවා, පිළිගන්නවා. නමුත් තමන් මව් කුසේ හිටිය හැටි, මව් ඇකයේ ඉඳගෙන කිරි උරා බීපු හැටි මතක් කරගන්න පුළුවන් අය ඉතාම දුර්ලභයි. අහන්නත් නැති තරම්. බෝසත් පාරමිතා ගුණ පුරණ අය හිටියොත් සමහර විට ඒ අයට නම් මතක තියෙන්න පුළුවන්. ඉතින් ලෝක ආරම්භය කාලෙ අපි හිටියෙ කොහොමද, කළේ මොනවද කියල දැනගන්න බැරි ඒ නිසා, අපේ මනස කෙළෙස්වලින් කිළිටි වෙලා තියෙන නිසා. ඒ නිසා සියලු කෙළෙස් නැසූ බුදු පියාණන් වහන්සේලා දේශනා කළ බුද්ධ දේශනාව සද්ධාවෙන් පිළි අරගෙන, ඒ නිවන් මග පූර්ණ කරගන්න කටයුතු කරන්න ඕන. සද්ධාවෙන් ගුණ පුරන පිරිස නොමග යැවීම පාපයක්.

**දරුවන්ට සුරතල් සිනා, සුරතල් ක්‍රියා, සුරතල් වදන් ලැබිල තියෙන්නෙ ඇයි? තමන්ව හදා වඩා ගන්න අයට, ඒ අයගෙ සිත සතුටු වෙන දෙයක් දෙන්න නැත්නම් කැත කුණු අතගාවිද? තමන් ගැන සොයා බලන්න කරදර විඳීවිද? ඒ අයගෙ උනන්දුවක් ඇතිවෙන්න ධර්මතාවය දුන්න දෙයක් තමයි දරු සුරතලය කියන්නෙ.** දරුවන්ට කැමති නැති කෑමක් බීමක් දුන්නම, කැමති නැති බව පෙන්වන්නෙ කටින් පිට කරල. ඒ වෙලාවට දෙමව්පියො වැඩිහිටියො ඒක කැතක් පිළිකුලක් නැතුව අතින් අරගෙන අස් කරනවා. නමුත් තමන්ගෙම කෙළ ටිකක්, සෙම ටිකක් ඇගේ තැවරුනොත් වහාම හෝදනවා.

කෙනෙක් වයසට ගියාමත් ළදරුවෙක් වගේ, දුන්න දෙයක් කාල බීල, දුන්න ඇඳුමක් ඇඳගෙන ඉන්න කාලයක් උදාවෙනවා. එදාටත් ඒ අයව බලා කියා ගන්න උදවිය ඒ කටයුතු කරන්නෙ අර වගේ ආදරෙන්ද, කැමැත්තෙන්ද? අනේ හරි සුරතල් සීය, හරි සුරතල් ආච්චි, හරි සුරතල් තාත්ත, හරි සුරතල් අම්ම කියල එදා වගේ සුරතල් කරනවද? නෑ. එදාට කරන්නෙ නොකර බැරිකමට. ලෝක ධර්මතාවය දැනගෙන, නොඇලී, නොබැඳී කටයුතු කරන අය නම් වැඩිහිටි උපස්ථානය සතුටින් කරනවා. නමුත් වැඩි පිරිසක් ඒවා කරන්නෙ නොකර බැරිකමට. දරුවන් සුරතල් කරපු එදා අපේ පැරැන්නො මේ දරු සුරතලයට හේතුව මේකයි කියල දැනගෙන නොඇලී, නොබැඳී දරු සුරතල් කළා. නමුත් අද දරුවට කෑම බීම දෙන්නෙ කුස ගිනි නිවන්න නෙවෙයි, ලොකු මහත් වෙන්න, කැපිල පේන්න, තරඟකාරිත්වයට. ඉතින් ලැබෙන්නෙත් විස සහිත ආහාර පාන, දෙන්නෙත් විස සහිත මානසිකත්වයකින්. ඒ නිසා කුඩා අවධියේ ඉඳලම ලෙඩ රෝග බහුලයි.

ආදියේ හිටපු පැරැන්නො මෙන්න මේ හේතු ඵල දහම දැකල දරුවන්ගෙ දරු සුරතලයට ඇලෙන්න බැඳෙන්න ගියේ නෑ. ඒ අයගෙ අවශ්‍යතා ඉටු කරල දුන්නා, පවින් වැළැක්කුවා, කුසලයේ පිහිටෙව්වා, යුතුකම් වගකීම් ඉටු කළා. බුදු පියාණන් වහන්සේත් තමන්ට ලැබුන ප්‍රණීත රසවත් අවුළුපත් ආදිය, මේ ටික කුමාර කාශ්‍යපට දෙන්න කියල කුමාර කාශ්‍යප හාමුදුරුවො සිහි කරල දීල තියෙනවා. නමුත් අතින් අල්ලගෙන, වඩාගෙන, ඉඹගෙන සුරතල් කරල නෑ. චුල්ල පන්ථක පොඩි හාමුදුරුවො අඬ අඬා ඉන්න කොට, නෙළුම් ආදී මල් පිපිච්ච විලක් ළඟට එක්කරගෙන ගිහින් මල් පිපෙනව වගේම මල් පරවෙන හැටි, ලෝක ස්වභාවය පෙන්නුවා. කර්මස්ථානයක් දීල සසර දුකින් එතෙර කළා.

මව්තුමියගෙ කීමට රාහුල පුංචි කුමාරයා දායාද ඉල්ලන්න ආවම, ඇඟිල්ල අල්ලගෙන සුරතල් කළේ නෑ. විහාරයට එක්කරගෙන ගිහින් පැවිදි කළා. විවිධ අවස්ථාවලදි රාහුලෝවාද සූත්‍රය වගේ අවවාද අනුසාසනා දේශනා කරල සසර දුකෙන් මිදෙන මග පෙන්නුවා. පිණ්ඩපාතෙ වඩිද්දි හී දඬු නමන හැටි, කෙත්වල වතුර හරවන හැටි, ලී වඩුවො දැව ඇද ඇරල ලී බඩු හදන හැටි දැකපු පණ්ඩිත පොඩි හාමුදුරුවො පිණ්ඩපාතෙ වඩින එක නතර කරල ආපහු පන්සලට වැඩියා. ඒ අනුව තමන්ගෙ හිතත් දමනය කරගන්න උත්සාහ කළා. මේ සිද්ධිය දිවැසින් දැක්ක බුදු හාමුදුරුවො, ශ්‍රාවක පුත්‍රයාව කුටියෙ දොරටුව ළඟ ඉඳගෙන ආරක්ෂා කළා. පිණ්ඩපාතෙ අරගෙන ආව සැරියුත් හාමුදුරුවො දානෙට වඩින්න කියන්න කුටිය ළඟට එනකොට, බුදු හාමුදුරුවො අතින් සංඥා කළා, කතා කරන්න එපා කියල. ඉර හැරිල දෙපැයක් ගතවෙද්දි පණ්ඩිත පොඩි හාමුදුරුවො රහත් බවට පත් වුනා. එතනදි, පොඩි ළමයනෙ දානෙ පරක්කු කරන්න හොඳ නෑ කියල හුරතල් කළේ නෑ. හිත වැඩෙන වෙලාවෙ හිත වැඩෙන්න අවශ්‍ය පරිසරය සකස් කරල දුන්නා. අපි අපේ සාස්තෘන් වහන්සේ අනුගමනය කරනව නම් දරු සුරතලය දිහා බලන්න ඕන ඒ විදිහට.

මේ සඳහා තවත් හොඳ උදාහරණයක් ත්‍රිපිටක පෙළ දහමේ ඛුද්දක නිකායේ එන <u>සංග්‍රාමජිත් සූත්‍රයේ</u> සඳහන් වෙනවා. එතනදි තමන්ට දාව ලැබෙන්න හිටිය දරුවත් බිරිඳත් දාල ගිහින් මහණ වෙලා අරිහත්වයට පත්වෙච්ච උත්තමයෙක්, දරුව ලැබුණම ඒ දරුව දිහාවත් භාර්යාව දිහාවත් නොබැලීම ☞

ගැන බුදුන් වහන්සේ උදාන වාක්‍යයක් දේශනා කරනවා. ඒ තමයි, මාගේ පුත්‍රයා දරුවා නිසාවත් බිරිඳ නිසාවත් ලෝකය නිසාවත් කම්පා වුනේ නෑ කියල.
(මේ පිළිබඳ වැඩිදුර විග්‍රහයක් හෙළ බොදු පියුම මංගල කලාපයේ "බුදුන් වහන්සේ පෙන්වා දුන් මෙත්තානුස්සතිය අර්ථ විපරීතයට ලක්ව ඇති හැටි" නම් ලිපියෙන් ඉදිරිපත් කරල තියෙනවා.)

එතකොට සතෙක් සුරතල් කරන්නෙත් ඒ සතාගෙ යම් යම් ක්‍රියාකාරකම් දකල ඒවාට කැමැත්තෙන් බැඳෙන නිසා. හැබැයි සතා වයසට ගියාමත් සුරතල් කරනවද? මනුස්සයගෙ ක්‍රියාකාරකම් (සංඛාර) විවිධයි. ඒ නිසා සතෙක් සුරතල් කරපු පමණින් තිරිසන්ගත වෙනව කියන්න බෑ තමයි. දයානුකම්පාව වගේ මතු පිටින් පෙනුනට සත්ව සුරතලය කියන්නෙත් ඇලීමක්, බැඳීමක්. ඒ ඇලීමට, බැඳීමට විරුද්ධව යමක් නැගී සිටින කොට ද්වේශය නැගෙන හැටිත් දකින්න පුළුවන්. තමන් හදන බලු සුරතලා උදේට ලිහල දාන්නෙ ශරීර කෘත්‍ය කර ගන්න. හැබැයි මිනිස්සුන්ට වගේ සතුන්ට ඒකට වෙන් කරපු තැනක් නෑ. එතකොට අල්ලපු ඉඩමට ගිහින් ඒ සතා ශරීර කෘත්‍ය කළාම ඒ අයට ඒක යහපතක්ද? වැරදිලාවත් වචනයක් කිව්වොත් ද්වේශයක් නැගෙන්නෙ නැත්ද? රාග ද්වේශ මෝහ කියන්නෙ අකුසල්. අකුසල් වැඩුවොත් සුගතියේ උපදිනවද?

මේ ළඟදි පුවත්පත්වල වාර්තා කරල තිබුනා, තමන්ගෙ ගෙදර සුරතලයට ඇති කරන බල්ලට පිටස්තර මනුස්සයෙක් මොනවහරි හිරිහැරයක් කළා කියල ඒ බල්ලගෙ අයිතිකාරයා විසින් ඒ මනුස්සයව මරල දාපු කතාවක්. එතකොට බල්ලට කොච්චර උපාදාන වෙලාද කියනව නම්, බල්ල නිසා තවත් මනුස්ස ජීවිතයක් වනසන්න තරම් ඒ උපාදානය බලවත් වුනා. මේ විදිහට හිතල බැලුවොත්, බල්ලෙක් සුරතල් කරල බල්ලෙක් වෙලා උපදින්න සිද්ධ වෙයිද නැත්ද කියල තෝර බේරගන්න පුළුවන්. සුනඛ ව්‍රත, ගෝ ව්‍රත, අජ ව්‍රත සමාදන් වෙන පිරිසක් අද අපේ රටේ නෑ. ඉතින් ඒ විදිහට බැලුවොත් බල්ලො, හරක්, එළුවො අපේ රටේ ඉන්න විදිහක් නෑ. නමුත් බුද්ධ කාලෙදි වගේ තවමත් අපේ රටේ බල්ලො, හරක්, එළුවො ඉන්නවා. මොකද ඒ සංඛාර වඩන පිරිස් තවමත් ඉන්නවා.



යම් කිසි කෙනෙක් ඇඳුමක් ගන්න යනවා. බැලුවම ඒකෙ තමන් කැමති පාටත් තියෙනවා, මහපු මෝස්තරයත් තමන් කැමති විදිහෙ එකක්, මුදලත් සාධාරණයි. ඉතිං බොහොම කැමැත්තෙන් අරගෙන ගෙදර ගේනවා. නූල් කොනක් පේන්න තිබුණ නිසා අතින් ඇදල කඩල දාන්නයි හැදුවෙ. ඒ වුනාට නූල ඇදිල ගිහින් සෑහෙන ප්‍රමාණයක් මැහුම් ලිහිල යනවා. මොනව කරන්නද, කමක් නෑ කියල ඒ ටික අතින්ම මහ ගන්නවා. දැන් ඒ ඇඳුම ගමනක් ඇඳගෙන යනවා. ඊළඟට දහදිය හෝදන්න කියල වතුරට දානවා. සෑහෙන ප්‍රමාණයක් පාට වතුරෙ දිය වෙනවා. රෙද්දෙ මෝස්තරේ බොඳ වෙනවා. දැන් තවත් වැදගත් ගමනකට නම් ඒක අඳින්න බෑ. මට හරි ෂෝක් ලස්සන ඇඳුමක් හම්බ වුනා කියල සතුටු වෙලා හිටියට, එක දවසින් ඒකෙ ලස්සනයි වටිනකමයි දෙකම නැතිවුනා. මතුපිටින් පෙනුන දේ නෙවෙයි ඇතුලෙ තිබුණෙ. මේ තත්ත්වය කලින් දැන ගන්න ලැබුන නම් ඒ ඇඳුම ගන්නෙ නෑ.

මෙන්න මේ වගේ **අපිට සුරතල් කරන්න, අයිති කරගන්න ලැබිච්ච දරු ජාතිය කියන්නෙ බුදුන් වහන්සේ දේශනා කරල තියෙන ජාති ධර්මවලින් එකක්. මේ සුරතල් ජාතිය අයිති කරගන්න මාස 9 කට වැඩිය දුක් වින්දා. කෑම කන්න අප්‍රිය වෙනකොට, උදේ පාන්දර වමනය, හිස කැරකෙන ගතිය එනකොට දුක වෙහෙස දරාගෙන සතුටු වුනා. කන්න පුළුවන් කියල හිතෙන ජාති සොය සොයා අනෙක් අය කරදර වෙනකොට අවිද්‍යාවෙන් සතුටු වුනා. ගමනක් බිමනක් යන්න තිබුණ අපහසුකම්, සුව පහසු නින්දක් ගන්න තිබුණ අපහසුකම්... ඔක්කොම, අලුත් සැපක් කියල තමයි මනස තෝරල දුන්නෙ. ලෝකෙ වෙන කාටවත් දරුවෙක් ලැබෙන කොට උදරය නෙරා එන්නෙ නැත්නම්, තමන්ට විතරක් මේ දේ සිද්ධ වෙනව නම්, මොන තරම් මානසික පීඩාවක් දැනෙනවද, ලජ්ජා වෙනවද, මොන තරම් බය වෙනවද? නමුත් මේ ඔක්කොම සැප හැටියට ගන්නවා. මේක හැමෝටම වෙන නිසා තමයි කැමැත්තෙන් බාර ගන්නෙ. තමන්, තමන් ගැන හිතන්නෙ ලෝකයත් එක්ක සංසන්දනය කරල. එතකොට තමන්ට දැනුන දුක් වේදනාව සැපක් හැටියට ගන්නවා.** " කමක් නෑ මගෙ චූටි පැටිය හම්බවෙන කල් විතරනෙ." හැබැයි මේ කියන්නෙ දුක, දුක හැටියට ගන්න කියන අදහස මිසක් දරුවො හදන්න එපා කියල නෙවෙයි. ඒ නිසා ඒ කාරණය හොඳින් තේරුම් ගන්න ඕන.

කොහොම හරි සුරතල් දරු ජාතිය මෙලොවට එනවා. දැන් දුක් කරදර ඉවරද? ලැබුන දරු ජාතිය හරිම මොලොක්, තමන්ගෙ කටයුතු මොකුත්ම තනියෙන් කරගන්න බෑ. මැස්සෙක් මදුරුවෙක් වැහුවත් එළව ගන්න බෑ. කුස ගිනි වෙලා පෙළෙනවා, පිපාසයෙන් පෙළෙනවා, නිදි මතින් පෙළෙනවා, හැරෙන්න පෙරළෙන්න බැරුව පෙළෙනවා, මළ මූත්‍ර පහ වුනාට පිරිසිදු කරගන්න බෑ පෙළෙනවා. පැය 24 ම අවධානයෙන් බලාගන්න සිද්ධ වෙච්ච දරු සම්පත්තියක්. දරුවත් පෙළෙන, තමනුත් පෙළෙන දරු ජාතියක් තමයි ලැබුනෙ. නමුත් කැමැත්ත ඇති වුනේ ලස්සන කිරි කැටි සිනා පාන, සුරතල් කතා කියන, දුව පැන ඇවිදින සුරතලෙක්. ඒ දරුවටත් පෙළෙන කයක් නම් ගොඩ නැගුනෙ, තමන්ටත් පෙළෙන්න වෙනව නම් එතන සතුටු වෙන්න වටින, ආස්වාද විඳින්න වටින යමක් තියෙනවද කියල හිතල බලන්න. අර සායම් බොඳ වෙච්ච ඇඳුම වගේ ආසාවෙන් ගත්තට මොනව කරන්නද? විසි කරන්න බැරි නිසා අඳිනවා. ඒ නිසා දරු ජාතියත් ආස්වාද විඳින්න

වටින්නෙ නෑ.

මජ්ජිම නිකායේ 3 වෙනි කාණ්ඩයේ 387 වෙනි පිටුවේ එන දේව දූත සූත්‍රයේ, **ළදරුවා පෙන්වන්නෙ සසර භයානකකම දැනගන්න දැකිය යුතු පළවෙනි දේව දූතයා හැටියට.** මේ සසර අනාථ බව අවබෝධ කරගෙන දුකින් මිදෙන්න යම් කෙනෙකුට මිනිස් අත්බැවක් උවමනා නිසා හදල වඩල පෝෂණය කරනවා. තමන්ට අවබෝධයක් ගන්න පුළුවන් වයසෙදි දහමට යොමු වෙලා, සසර දුකින් එතෙර වෙන්න ලැබේවා කියන ආශිර්වාදය නිතර සිහි කරනවා. අතීතයේ දෙමව්පියො දරුවො හැදුවෙ ඒ විදිහට. එක අම්මට දරුවො 10 ක් 12 ක් විතර ඉඳල තියෙනවා. දැන් ඉන්නෙ එක්කෙනා දෙන්නා නිසා බදාගෙන ඉඹගෙන සුරතල් කළාට, ඉස්සර අම්මලට එහෙම කරන්න කාලයක් තිබිලත් නෑ. දහම් ශ්‍රවණය කරල ජීවිතේ අසාරත්වය දැකල තිබුණ නිසා එහෙම කරන්න උවමනාවක් තිබිලත් නෑ.

මීටත් වඩා බරපතල කාරණය වෙන්නෙ, සසර ණය ගනුදෙනුවල ස්වභාවය. මේ අත්බැවේ පියා වෙලා, ඊළඟට මැරිල ගිහින් තමන් සුරතල් කරපු දරුවන්ගෙ දරුවන්ට දැන් පුතා / දුව වෙලා, අම්මෙ තාත්තෙ කියන්න සිද්ධ වෙලා ඒ පවුලෙම නැවත උපදිනවා. සුරතලෙන් බැඳිල ඉඳල තවත් සමහර වැඩිහිටියො ප්‍රේත අත්බැව් ලබල ඒ දරු මුණුබුරන්ටම කරදර කරනවා. මේවා එදිනෙදා සමාජයේ කොච්චරවත් අහන්න ලැබෙන කතා.

දරු සුරතලය මෙහෙම නම්, සුරතල් සතුන්ගෙ සුරතලය ගැන කියන්න දෙයක් නෑ. තිරිසනෙක් කියන්නෙ විපාක දුකක් විඳින සත්ත්වයෙක්. සුරතල් සතෙක් විදිහට කෙනෙක් ළඟට සතෙක් නිකම්ම එන්නෙ නෑ. ඒ සතා මනුස්ස වෙලා ඉඳපු කාලෙකදි, නැත්නම් අපිත් තිරිසන් වෙලා හිටපු කාලෙක, තිරිසනෙක් වෙලා හරි තමන්ට යම් උපකාරයක් කරල තියෙන්න ඕන. නැත්නම් තමන්ගෙන් යමක් ලබන්න හිමිකමක් නෑ. තමන් ළඟට එන්නෙ ඒ හිමිකම ලබා ගන්න. මනුස්සයින්ගෙ සංඛාර විවිධයි. අපට උපකාර කළාට, ඒ අය තමන්ගෙ පුද්ගලික ජීවිතයෙදි යම් තිරිසන් සංඛාරයක් වඩපු නිසයි දැන් තිරිසන් අත්බැවක් ලබල තියෙන්නෙ. එහෙම නම් අපේ යුතුකම වෙන්න ඕන මොකක්ද? පෙර අපට උපකාර කරපු, දැන් ඒ දුකට වැටිච්ච සත්ත්වයාට දුකෙන් නිදහස් වෙන්න උපකාර කරන්න ඕන.

අපි යම් ආර්ය මාර්ගයක් වඩනව නම්, ආර්යන් කෙරෙහි සිත පහදවා ගැනීම කුසලයක්. අපි ඒ සතාට ආහාර ටිකක් දුන්නම ඒ වෙලාවට අපි කෙරෙහි ඇතිවෙන ප්‍රසාද සිතින්, බල්ලෙක් නම් නගුට වනනවා, පූසෙක් නම් පුරු පුරු ගානවා. ඒ වගේ යම් කිසි ප්‍රසාදය ප්‍රකාශ කිරීමක් පෙන්වනවා. අපි කෙරෙහි සිත පැහැදුන කුසලයෙන්, නුඹ දුගතියෙන් අත මිදේවා, සුගතියට පත්වේවා, යළි කිසි දිනෙක දුගතියට පත් නොවී කල්‍යාණ මිත්‍ර සම්පත්තිය ලැබී සසර දුකෙන් මිදේවා... කියල ඒ සතාට ආශීර්වාද කරන්න ඕන. නරකය, තිරිසන්, ප්‍රේත, අසුර කියන්නෙ සතර අපාය කියල දන්නවා. අපාගත සත්තු සුරතල් කරන්න කිව්වොත් ඒකට නම් කැමති නෑ. නමුත් තිරිසනෙක්, සුරතලෙක් කරගන්න කැමතියි. ආස්වාදයට ඇති කැමැත්ත නිසා, අපාගත සත්ත්වයෙක් කියන කාරණය අමතක වෙනවා. නැත්නම් ඔසුපත් වගේ නිරයක ඉන්න නිරි සත්ත්වයෙක්, ප්‍රේත ලෝකයේ ඉන්න ප්‍රේතයෙක් එහෙම සුරතල් කරන්න හිතෙනවද?

**දෙවේලේ පේන**
**කුකුළාගෙ කරමළා**
**එවේලෙම පෙනෙයි**
**සකසේම සුදු වෙලා**

නිතර දකින සුරතල් සතාගෙ තිරිසන් ලෝකෙ දුක නොපෙනෙන නිසයි අනුකම්පාව වෙනුවට සුරතල් කරන්න හිතෙන්නෙ. හැබැයි සුරතල් කළාට ඒ සතා තිරිසන් දුකෙන් මිදෙනවද කියල හිතල බලන්න ඕන. ඒ වගේම තමන්ට ලැබිච්ච මනුස්ස ජීවිතයෙන්, සසර දුකෙන් මිදෙන්න යමක් කරගන්න තියෙන කාලය නේද මේ අපාගත සතෙක් එක්ක දඟලන්න ගත කරන්නෙ කියල නුවණින් විමසල බලන්න ඕන. සුරතල් සතාගෙ උඩ පනින දඟලන ගතියට, තමන්ගෙ ළඟත් උඩ පනින දඟලන ගතියක් හිතේ ඇතිවෙලා තියෙන නිසයි ගතියට ගතිය ආකර්ශනය වෙලා සතා කෙරෙහි රාගයෙන් බැඳෙන්නෙ. තිරිසන් අපායගාමී වෙන්න තමන්ට බලපාන්නෙ මෙන්න මේ නොදැනුවත්කමින් ගතියට ගතිය ආකර්ශනය වීම. ඒ ගති ආකර්ශනය නිසා තිරිසනාගෙ ක්‍රියා නොදැනුවත්වම තමනුත් අනුගමනය කරනවා, සංඛාර ගොඩ නගනවා.

මව්පියන්ගෙ පළවෙනි යුතුකම වගකීම වෙන්නෙ, දරුවා පෝෂණය කිරීම වගේම දරුවා පවින් වැළකීම, කුසලයෙහි යෙදවීම කියන කාරණා. ඉස්සර කිව්වෙ භය හතර නොදන්න දරුවන්ට දෙමව්පියො භය හතර කියල දෙන්න ඕන කියල. පාසැල් යන්නෙ, ඉගෙන ගන්නෙ දෙවනුවට. **භය හතර කිව්වෙ දිව්‍ය ලෝක භයටයි, සතර අපායටයි.** ඒ විදිහට කියල දීමෙන්, මෙලොව උපන් සත්ත්වයාට සතර අපා ආදී දුකකට පත් නොවෙන මග දැනගන්න ලැබෙන නිසා, ඒක නම් හොඳ වටිනා සුර + තලයක් - සුරතලයක් වෙනවා. ඉතිං ඒ විදිහට භය හතර දැනගත්තම ඒකෙන් තමයි හිත හික්මෙන්නෙ, චතුරාර්ය සත්‍යය දකින්න පසුතලය හැදෙන්නෙ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**ඩබ්ලිව්.ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත - 011 2 901 508**

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි පළාත් ගණනාවකම පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි තවත් ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895

**අභයරතනාලංකාරය - 64**

# පින්වත් පිරිසට කෙරෙන කාරුණික දැනුම් දීමයි...



- වහරක අභයරතනාලංකාර හිමි

මේ ලෝකයේ ජීවත් වෙනකොට අර්බුද ගැටළු කියන ඒවා සාමාන්‍ය ලෝකයා අතර විතරක් නෙවෙයි, දහම් මග අනුගමනය කරන පින්වතුන් අතරත් දකින්න තියෙනවා. බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලයේ පවා භික්ෂු, භික්ෂුනී, උපාසක, උපාසිකා කියන සිව්වනක් පිරිස අතරත් මේ ගැටළු අර්බුද පැන නැගිච්ච අවස්ථා තිබුනා. හැබැයි ඒවා සාමාන්‍ය ලෝකයා අතර පවතින ගහමරා ගැනීම් වගේ තදබල ඒවා නෙවෙයි. රහතන් වහන්සේලා සහ කාම රාග පටිස නැති කළ අනාගාමී උතුමන් හැර, කෙලෙස් සම්පූර්ණයෙන් ප්‍රහීන නොකරපු අනෙක් අය අතර ඒ වගේ ගැටළු අර්බුද පැන නැගීම සාමාන්‍ය දෙයක්. හැබැයි ඒ හැම ගැටළුවකටම ධර්මානුකූල විසඳුම් තිබුනා.

ඒ වගේ අවස්ථාවල ලොව්තුරා බුදුන් වහන්සේත්, සැරියුත්, මුගලන්, ආනන්ද වගේ සිවුපිළිසිඹියාපත් ආර්ය උත්තමයන් වහන්සේලාත් දුන් අනුසාසනා මගින් ඒ තත්ත්වයන්ට විසඳුම් ලැබුනා. ලෝකය සම්පූර්ණයෙන්ම අතහැරල නැති ආර්ය මාර්ගයේ යන අය, ලෝකය තවමත් ඇසුරු කරන නිසා ඒ අය අතරත් ඒ වගේ ගැටළු අර්බුද මතුවෙන්න පුළුවන්. විශේෂයෙන් මේ සාසන මාර්ගයේ ගමන් කරනකොට සැදැහැවතුන්ගෙන් විවිධාකාර ලාභ, කීර්ති, ප්‍රසංසා ලැබෙන නිසා සමහර අය ඒවාට පහසුවෙන්ම ඇදිල යන්න පුළුවන්. ඒවාට ගිජු වෙලා යම් යම් අය අතර තරඟකාරීත්වයක් ඇතිවෙන්නත් පුළුවන්. දහම් මාර්ගයේ මුල ඉන්න අයට ඒ වගේ තත්ත්වයන්ට පහසුවෙන් මුහුණ දෙන්න සිද්ධ වෙන්න පුළුවන්.

අභයරතනාලංකාර හිමියන් ගිහි වතක ඉඳෙද්දි කරපු විවිධාකාර සාසනික ප්‍රතිකර්මවලින් මනුස්සයින්ගෙ දුක් කරදරවලට සාර්ථකව ධර්මානුකූල විසඳුම් ලැබිච්ච නිසා ඒ වටා හිටපු පිරිසටත් යම් කිසි ලාභ කීර්ති ප්‍රසංසා ලැබුනා. ගිහි වතක හිටපු නිසා ඒ සමහර ක්‍රමවේදවලින් ජීවිතය පවත්වා ගන්න දැහැමි ආදායමකුත් ලැබුනා. නමුත් උන්වහන්සේ ගිහි වත අත්හැරල පැවිද්දට යනකොට ඒ සමහර අයට ඒක දරාගන්න බැරිවෙලා තියෙනවා. පුද්ගලික වශයෙන් ලැබිච්ච ලාභ කීර්ති ප්‍රසංසා අඩු වෙන නිසා අර කලින් සඳහන් කරපු විදිහට එකිනෙකා අතර නොහොඳ නෝක්කාඩුකම් ඇතිවෙලත් තියෙනවා. ඉතිං ඒ තත්ත්වය සමනය කරල ඒ අයට අවවාද අනුසාසනා කරන්න උන්වහන්සේට යම් කිසි දහම් පණිවිඩයක් ලබා දෙන්න සිද්ධ වුනා.

එදා උන්වහන්සේ දැනුම් දුන් ඒ දහම් පණිවිඩය අද ඉන්න අයටත් බොහෝකොටම ගැලපෙන බව හැඟුන නිසාත්, ඒ පණිවිඩයේ ඉතා වටිනා දහම් කරුණු ගැබ් වෙලා තියෙන බව හැඟුන නිසාත්, ඒ දහම් පණිවිඩයේ අඩංගු ඉතා වැදගත් කරුණු කිහිපයක් මේ විදිහට පළ කරන්න සුදුසුයි කියල හිතුවා. ඒ දහම් කරුණු අද ඉන්න සම්මත / පරමාර්ථ බෞද්ධ හැමෝටම බොහොම වැදගත් වේවි. මේ සංසාරයේ තියෙන භයානකත්වය සහ සමගිය සමාදානයේ වටිනාකම තේරුම් ගන්නත්, ඒ වගේම ගිහි වත අත් හැරල පැවිද්දට යනකොට ඒකට විරුද්ධ වෙන අයට ධර්මානුකූලව කරුණු පහදල දෙන්නත් මේ කරුණු මහත් පිටිවහලක් වෙයි කියල බලාපොරොත්තු වෙනවා. මේ තමයි උන්වහන්සේ ගිහි වතක සිට පැවිදි බිමට ඇතුළත් වීමේ සිද්ධිය ගැන කෙටියෙන් කළ විස්තරයත්, ඉන්පසු නිකුත් කළ දහම් පණිවිඩයත්.

ගිහි ගෙදර තිබිච්ච ගිනි ගොඩවල් නිසා මම අන්තිම කාලෙ ඒ ගැන කළකිරිල හිටියෙ. හැබැයි ඒ ලෝක සම්මතයේ අනිත් අයට එන කළකිරීම නෙවෙයි. ගිහි ගෙදර ගිනි දැකල ගිහි ගෙදරට ඇලෙන්නෙ බැඳෙන්නෙ නැති, ඇල්මක් නැති ස්වභාවයක් තමයි මට තිබුනෙ. ඒ කියන්නෙ මම ගෙදර සියළු වියපැහැදම් දූරුවත් ඒ අයගෙ බලපුළුවන්කාරකමට, හිතුමතේට තමයි ඔක්කොම පාලනය කළේ. මොකද මම කවදාවත් ගහන්නෙ බනින්නෙ නෑ කියල දන්නවා. ඒ නිසා ඒ අයට ඕන දෙයක් කරන්න කියන්න පුළුවන් නිදහස තිබුනා. ඒ ඇරෙන්න වෙන වරදක් තිබුනෙ නෑ.

ඉතින් තවදුරටත් ගිහි වතේ හිටියොත් මුළු ජීවිත කාලයම කොටු වෙනව කියල මම දැන ගත්තා. ඒ අයගෙන් බේරෙන්න බෑ කියලත් මම දැනගත්තා. හැබැයි ඒ වෙනකොට මම මහණ වෙනවට පවුලෙ අය කැමති නැති බවත් මම දැනගෙන හිටියා. මොකද එහෙම වුනොත් ඒ අයට ජීවත් වෙන්න ක්‍රමයක් නැති වෙන නිසා. (නමුත් මම මහණ වුනාට පස්සෙ පවුලෙ ඔක්කොම කතා වෙලා සියල්ල සාසනයට පූජා කරනව කියල එකඟ වෙලා ඒ අයත් මහණ වුනා.) ඒ නිසා එක්තරා ආකාරයකට රහසිගතව තමයි මගේ මහණ පින්කම සිද්ධ වුනේ. උඹල කැමති ආකාරයකට ජීවත් වෙයල්ලා, සමගියෙන් සමාදානයෙන් ගිහි ගෙදර ඉන්න බැරි බව ඒකාන්තයෙන්ම දන්නව කියල තමයි මම එළියට බැස්සෙ. හැබැයි ඒ කාත් එක්කවත් තරහකට නෙවෙයි. කවදහරි ඒ තත්ත්වයට පත් වෙලා මේ සසර ගමන කෙළවර කරගන්න මගේ බලාපොරොත්තුවක් තිබිච්ච නිසාමයි මම එහෙම ගියේ. ගිහි ගෙදර තවදුරටත් කොටු ☞

වුනොත් කවදහරි මට නිරපරාදෙ මැරෙන්න වෙනව කියල දැනගෙන තමයි ගිහි ගෙදරින් අයින් වුනේ.

හැබැයි ඒ වෙලාවෙදි මම ඇසුරු කරපු සමහර අය හිතුවෙ, ඒ අයගෙ වැරදි දැකල මම කළකිරිල පැවිදි වෙනව කියල. මම කිව්ව ඉතිං මම කොහොමත් බලාපොරොත්තුවෙන් හිටියෙ මහණ වෙන්න, ඒ බලාපොරොත්තුව සඵල කරගන්න කියල. නමුත් ඒ සමහර අයගෙ බලාපොරොත්තුව තිබුනෙ ඒ කාලෙ කරපු කටයුතු එක්ක දිගටම පැවැත්ම ගෙනියන්න. මොකද ඉතිං ලාභ කීර්ති ප්‍රසංසාත් ලැබිච්ච නිසා ඒ ගැනත් ඒ අයට බලාපොරොත්තු තිබුනා. ඉතිං ඒ අය දැනගත්තොත් බේරෙන්න බෑ, මගේ පස්සෙන් එනවා, මාව මුර කරනවා, විවිධාකාර තැන් බලාපොරොත්තු වෙනවා. ඉතිං ඒ වෙනකොටත් සමහර අය අතර ඒ ලැබිච්ච ලාභ කීර්ති ප්‍රසංසාවලට යම් කිසි තැනක් බලාපොරොත්තුවෙන් තරඟයක් තිබුනා. ඒ නිසා ඒ සමහර අය අතර මත ගැටුම් පවා තිබුනා. කඹ ඇදිලි තිබුනා. තමන්ට යම් කිසි තැනක් ගන්න ඒ අය අතර වචන හුවමාරු වෙච්ච සමහර අවස්ථාවලදී මම ඒ අයට පුද්ගලිකව අනුසාසනා කරලත් තියෙනවා. ලෝකයේ මොකටද තැන් හොයන්නෙ? මේ බණ අහල මොන තැනක්ද ලෝකයෙන් බලාපොරොත්තු වෙන්නෙ? ඒ නිසා ඉන්න තැන් හොයන්න එපා, සසර ගමන කෙළවර කරගන්න බලන්න, එතකල් යහපතින් කටයුතු කරන්න කියල තමයි මම ඒ වගේ අවස්ථාවල අනුසාසනා කළේ.

ඒ කාලෙ "අරිය චින්තාශ්‍රම දීප ව්‍යාප්ත සත්පුරුෂ සංවිධානය" කියල සංවිධානයක් හදල ඒ හරහා තමයි ඒ සියළු සාසනික කටයුතු දියත් කළේ. "සත්පුරිසෝ ජනස්ස හිතාය හෝති" කියන බුදු වදන තමයි ඒකෙ ආදර්ශ පාඨය විදිහට යොදාගත්තෙ. සත්පුරුෂයන් ජනතාවගේ යහපත පිණිස කටයුතු කරන්න ඕන කියන අදහස තමයි ඒකෙන් දුන්නෙ. ඉතිං මේ සියළු වැඩ කටයුතු ඒ අදහසටත් ගැලපෙන්න ඕන. ඒ නිසා කවුරුහරි භේදභින්න වෙලා අසමගි වෙනව නම් ඒක ගැලපෙන්නෙ නෑ. ඒ තත්ත්වය මේ සාසන මගට හොඳ දෙයක් නෙවෙයි. ඒ නිසා මට මේ සියළු දෙනාම වෙනුවෙන් පොදුවේ දහම් පණිවිඩයක් නිකුත් කරන්න සිද්ධ වුනා. හැබැයි මම **මේ ඒ අයට දොස් කියනව නෙවෙයි. ඒ වගේ අඩුපාඩුකම් ඉතිං බොහෝ දෙනෙක්ගෙ අතින් සිද්ධ වෙන්න පුළුවන්. මේ සසරෙ හැටි එහෙම තමයි. ඒ නිසා මේකෙන් මිදෙන්නත් ඕන.** ඉතිං කාටවත් රිදවන්න නෙවෙයි, මේ දුර්ලභ සාසනයේ තියෙන වටිනාකම හැමෝටම පෙන්වා දෙන්න, හැමෝගෙම යහපත පිණිස මට ඒ පණිවිඩය ලබාදෙන්න සිද්ධ වුනා. හැබැයි පසුව ඒ අය අතර ඇතිවෙච්ච අර්බුදය සමථයකට පත් වෙච්ච බවත් අහන්න ලැබුන නිසා අවස්ථානුකූලව බලල මම ඒක හැමෝගෙම අතට පත් කළෙත් නෑ.

(උන්වහන්සේ එදා නිකුත් කළ ඒ දහම් පණිවිඩය එදාට විතරක් නෙවෙයි, අද ඉන්න අයටත් එකසේ ගැලපෙන බව හැඟී ගිය නිසා ඒ පණිවිඩයේ අඩංගු සාරගර්භ කොටස මේ විදිහට සටහන් කරනවා.)

## මා ඇසුරු කළ දහස් ගණනක පින්වත් පිරිසට කරන කාරුණික අනුසාසනාවයි.

අර්ථයෙන් ධර්මයෙන් අනුසාසනා කරමින් වසර පහළොවක පමණ කාලයක් මේ වනවිට ගෙවී ඇත. මේ සත් ක්‍රියාව මල්ඵල ගන්වමින් උඩ පනලිය විහාරස්ථානයේ ගරු නායක හාමුදුරුවන්ගේ අනුසාසකත්වයෙන් මංගල මහා බෝධි පූජාවෙන් ආරම්භ කළ සාසනික අභිවෘද්ධිය අද වනවිට එම සත් ක්‍රියාවේ මුදුන් පෙත්තට ළඟා වෙමින් පවතින බව සැමට රහසක් නොවේ.

උපාසකවරයෙක් ලෙස මෙතෙක් කල් කටයුතු කළ මා මේ වනවිට භික්ෂුත්වය ලබා සිටින හිමි නමක් බවට පත්ව ඇත. උපාසක උපාසිකාවන් සමග පෙර තිබූ සාසනික ආකල්පයන්ට අන්‍ය වූ භික්ෂු ආකල්පයට අනුව මින් මතුවට කටයුතු කළ යුතු බැවින්, ඔබ සැමට භේද ඇති කර නොගෙන සාසනික සමගි දාමයෙන් යුතුව කටයුතු කර නිවන් මග අප්‍රමාදව පූර්ණ කර ගන්නා ලෙස මෙයින් දැනුම් දෙමි.

මෙතෙක් කල් මා අවවාද අනුසාසනා කර ඇත්නම් ඒවා මගේ පුද්ගලික මතවාද නොව, බුදු පියාණන් වහන්සේ අප්‍රමාදව නිවන් අවබෝධ කර ගැනීමට දෙසා වදාළ අනුසාසනාවන්මය.

අප සැම බුදු පියාණන් වහන්සේගේ දරුවන් බව නිතර සිහි කළ යුතුය. **බුදු බැතියෙන් මලක් පහනක් තබා ගෞරව කළ කෙනා පවා බුදු දරු බවට ළඟා වන්නට කටයුතු කරන පින්වතුන් බව අප නිතර සිහි කළ යුතුය.**

සාසනික කටයුතු සඳහා තම කාලය ශ්‍රමය බොහෝ කොට යොදවමින් ඒ සඳහා ඇප කැප වී කටයුතු කරන පින්වත් පිරිස, එසේ සම්බන්ධ නොවන අන්‍ය පිරිස් කෙරෙහි පහත් කොට සැලකීම් නොකළ යුතුය. එසේ කැපවීම් කළ හැකි වන්නේ උසස් ධර්මාවබෝධයක් සහ සංසාර පළපුරුද්දක් ඇති අයට පමණි.

කාමයන්හි ඇලීම සහ ඒ ඒ තැන්හි ගැටීම ඇති කරන අවිද්‍යාව දුරුවන්න නම් අනාගාමී ඵලයටවත් පත්විය යුතුය. ඉන් මෙහා සිටින පින්වතුන් ඉවසීමෙන් යුතුව බුද්ධානුසාසනා පරිදි හික්මෙමින් ධර්මානුකූලව ක්‍රියා කරමින් සමගිව සිටින්න උත්සාහ කළ යුතුය.

කුක්කුටමිත්ත නම් වැද්දාගේ බිරිඳ හත් අවුරුද්දෙදි සෝතාපන්න ඵලය ලැබූ සිටු කුමරියකි. තරුණ වයස එනවිට මස් වැද්දා සමග රහසේ පැන ගොස් දරුවන් දස දෙනෙක් ලැබී එම දරුවන් තරුණ බවට පත් වනතුරු කැලෑ පෙදෙසක පවුල් ජීවිතය ගත කළ තැනැත්තියකි. ඒ කාලයේ බුදු පියාණන් වහන්සේට හෝ ශ්‍රාවකයන් වහන්සේ නමකට හෝ දානයක් දෙන තරම්වත් සාසන කටයුත්තක් කරන්න අවස්ථාව නොලැබුණ කෙනෙකි. නමුත් නියත වශයෙන්ම සතර අපායෙන් මිදුන බුද්ධ ශ්‍රාවිකාවකි.

ඇයට යමෙක් අපහාස කළා නම් එසේ කළ අයට ආර්ය උපවාදයක් වනු ඇත. මගඵල නොලැබූ කෙනෙක් අපවාද කළා නම් ඒ හේතුවෙන් ඊළඟ අත්බැව්හි අපාගත වනු ඇත. මගඵල ලාභියෙක් අපවාද කළා නම් සහ එය කමා කර නොගත්තේ නම් තම ඉතිරි මගඵල ලැබීම පවා ඒ අත්බැව්හි නවතිනු ඇත. නැතිනම් ප්‍රමාද වනු ඇත. එබැවින් අන්‍යයන් විවේචනයට ලක් කිරීම මහා භයානක අපරාධයක් බව තරයේ සිහි කරගත යුතුය.

ඔබ සැම දෙනාට නිතර කර ඇති ධර්මානුසාසනයක් නම් තමනුත් ධර්මයක් යන තේමාව තුළ නිතර ගැවසෙන ලෙසය. එබැවින් අන්‍යයන් විවේචනය නොකරන්න. අඩුපාඩු ඇති බවක් හේතු ඇතිවම දුටුවත් පුද්ගල ප්‍රතික්ෂේපයක් නොකළ

යුතුය. දයානුකම්පාවෙන් ධර්මානුකූලව හිත නොරිදවා කරුණු පෙන්වා දීමට මහන්සි ගත යුතුය.

එසේත් කළ නොහැකි සැඩ පරුෂ පුද්ගලයෙක් නම්, කවදා හෝ ධර්මාවබෝධය ලැබේවායි අනුකම්පා සිත් ඉපිදවිය යුතුය. ඔවුන්ගේ හිත රිදවන වචනයක්වත් නොකිය යුතුය. එවිට කිසිවිටක භේද භින්න වීමක් ඇති නොවනු ඇත. **කවදා හෝ සාසන ගුණයකට යන්තමින්වත් ළඟා වන ගති ලක්ෂණයක් දුටු විට එකවරට දහස් වරක් සතුටු සිතින් ඔහුගේ / ඇයගේ පැමිණීම පිළිගත යුතුය. මෙයයි බුද්ධානුසාසනය.**

ලොව්තුරා බුදු වන බවට විවරණ විසි තුනක් ලබා සිටි අප මහා බෝසතාණන් වහන්සේ කාශ්‍යප බුදු පියාණන් වහන්සේට වරෙක මුඩු මහණා යනුවෙන් හය වරක්ම අපවාද කර ඇත. ඒ ජෝතිපාල නම් මානවකව සිටි අවධියේය. අනාගාමී ඵලයට පත්ව සිටි ඝටීකාර නම් තම මිතුරා ඊට උරණ නොවී කෙසේ හෝ කාශ්‍යප බුදු පියාණන් වහන්සේ වෙතට ගෙන ගියෙන් ඉන්පසු පැහැදී කමා කරගෙන සාසනයේ මහණ වී විසි හතර වන විවරණයද ලබා ගත් බව ධර්මයේ සඳහන් වේ.

මුගලන් මහ රහතන් වහන්සේ දූසී නම් මාර දිව්‍ය පුත්‍රයෙක්ව, පෙර බුදු පියාණන් වහන්සේ නමක් සමග පසුපසින් වැඩි අග්‍ර ශ්‍රාවක නමකට ගලකින්ද ගසා අපාගත වූ කතාවක් ධර්මයේ සඳහන්ය.

මෙවන් උතුමන් අතින්ද මෙබඳු අපවාද සිදුවන බව සිහි කරගත යුතුය. ඒ නිසා **අපවාද කළ කෙනෙක් දුටු විට හෙතෙම පහත් නීච පුද්ගලයෙකැයි හංවඩු ගසන්නට නොයා යුතුය.**

අනුන්ගේ දොස් සොයන්නට නිතර වෙහෙස වන අයට නොදැනුවත්වම නිතර දූෂ්‍ය සිත් හට ගැනෙන්න පටන් ගනු ඇත. එය තමා තමාටම කරගන්නා අපරාධයක් බව නිතර සිහි කළ යුතුය. සමගිය ඇති තැන භේද කර ගත් විට සාසන දියුණුව අඩාල වනු ඇත. ආර්ය ගුණ ඇත්තෝ එබඳු පෙදෙස් සහ පිරිස් ඇසුරට කැමති නැත. සම්දිටු දේවතාවෝද කළකිරී ඉවත් වනු ඇත. සැම අතින්ම පිරිහෙන්න වනු ඇත.

මෙතෙක් කරුණු ඉදිරිපත් කළේ සමගියේ වටිනාකම පෙන්වා දීමටයි. ඒ නිසා අසමගියට තියෙන බාධා හැකි පමණ ඉවත් කරගන්න.

**ඔබ සැමට නිතර මා පෙන්වා දුන්නේ මා සමග ඇලී ගැලී කටයුතු කරන්න නොසිතා, පෙන්වා දුන් ධර්ම මාර්ගය සැක හැර දරාගෙන කටයුතු කර ගන්නා ලෙසටය. ධ්‍යාන මාර්ගඵල ගැන රහසක් නොවන ලෙස අත්දැකීම් ලත් පිරිසක් දැනට පහළව ඇති බව ඒ ඒ පින්වතුන්ට වැටහෙනු ඇතැයි සිතමි.**

සාසන දියුණුව පතන මේ පින්වතුන් කළ යුත්තේ මා පසුපස නිතර ගැවසෙන්න උත්සාහ කිරීම නොව, දහම් මග යන පිරිසට දයානුකම්පාවෙන් නැගෙන්න අතහිත දෙමින් උතුම් ඵලය ළඟා කර ගන්නා බලාපොරොත්තුවෙන් පැවිදි වී හෝ ගිහිව හෝ ඇප කැප වී කටයුතු කරන උතුම් පිරිසට ඒ උත්තම අරිහත්වය කරා යාමට තමන්ට කළ හැකි හැම උපකාරයක්ම ලබා දීමය.

ආරණ්‍ය සෙනසුන් ආදිය කරවා උන්වහන්සේලා වැඩමවාගෙන හැකි පමණින් ඇප උපස්ථාන කිරීමට උත්සාහ ගත යුතුය. ඒ කෙරෙහි පැහැදීමෙන් එන දායක පිරිස් ඉතා සතුටින් පිළිගත යුතුය.

මේ අනුසාසනා කරන මා ඔය පින්වතුන් කරන යහපත් කටයුතුවල පොදු වස්තුවක් සේ සැලකිය යුතුය. කළ උපකාරවලට කෘතෝපකාර කරන ගුණයෙන් මා අසුරු කිරීම කිසි වරදක් නැත. දුක සැප සොයා බැලුවාට වරදක් නැත.

ධර්මානුකූලව මෙහෙය වන අදහස් පරිදි ක්‍රියා කරන මම මගේ පුද්ගලික අදහසකටවත් ඉඩ දී කටයුතු කරන කෙනෙක් නොවන බැවින් ධර්මානුකූලව එන අදහස් පරිදි මිසක් හිතුමතේට කටයුතු කිරීම මගේ ඉදිරි චර්යා රටාව නොවන බව තේරුම් ගත යුතුය.

එසේම පැවිදි වීමට පෙර පවුලේ උදවියට මාගේ පැවිදිවීම කෙරෙහි යම් සංවේගයක් ඇති වුවත්, අප සැවොම නිවන් කරා යන ගමනේ එක් සන්ධිස්ථානයක් ලෙස සලකා සාසන ආශිර්වාදයෙන් සිත් සතන් සනසාගෙන ඔබ සැමද හැකි ඉක්මනින් සසුන්ගත වන්න මග පාද ගන්නා ලෙස දැනුම් දෙමි.

බුදු සසුන බබලමින් යළි අරිහත් ධජය ලොවම බබලන්න අඩි තාලම නැගෙන මේ අවස්ථාවේ උත්තරීතර වාසනාව අත්පත් කරගන්න හේතු වාසනා ලබා ඇති දහස් ගණනක පින්වත් පිරිස දිරිය ගෙන ඒ උත්තම වාසනාව ලබා ජය ගන්න ධර්මය වඩන්න. නිවන් ශාන්තියට පත්වන්න.

මීට සාසන හිතකාමී,
අභයරතනාලංකාර හිමි

මේ දහම් පණිවිඩයේ එන සමහර කරුණු සමහර කෙනෙකුට නොතේරෙන්න පුළුවන්. ඒ අතරින් "තමනුත් ධර්මයක් යන තේමාව තුල නිතර ගැවසෙන ලෙස" කියන කාරණය උන්වහන්සේ නැවතත් මේ විදිහට පැහැදිලි කළා. ඒ කියන්නෙ, තමන් ළඟත් මොකක්හරි දහම් ගුණයක් තිබිය යුතුයි. පංච සීල, උපෝසථ සීල... ආදී කුමන හෝ දෙයක් සාසන මග තුළ වැඩිය යුතුයි. එතකොට පුද්ගලයෙක් යහ මගට පත් වෙනවා. ඒ වගේ කෙනෙකුට තවත් කෙනෙක් සඳහා අවවාද අනුසාසනා කරන්න පුළුවන්.

වෙනත් විදිහකින් කියනව නම් ධර්මය තේමා කරගෙන ඉන්න ඕන. ඒ තේමාව තුල ජීවිතය ගත කළ යුතුයි. තමන් නිතර කියන කරන දේවල් ධර්මානුකූල විය යුතුයි. එහෙම නැතිව දහම දැනගත්තට විතරක් මදි. ඒ දහම තුල ඉන්නත් ඕන. දැනගත්ත දහම ගුරුවරයා කරගෙන තමන්ගෙ විමුක්තිය හැකි ඉක්මනින් සලසගන්න කටයුතු කරන්න ඕන. ශ්‍රාවක බුද්ධ වන අරිහත් ඵලය ලබන්න නම් ඒ ක්‍රමය අනුගමනය කරන්න ඕන. රහතන් වහන්සේ අනුගමනය කරන්න ඕන.

ඊළඟට "පොදු වස්තුවක් සේ සැලකිය යුතුය" කියන කාරණයත් උන්වහන්සේ මේ විදිහට පැහැදිලි කළා. ඒ කියන්නෙ පුද්ගලිකත්වයකින් ගන්න එපා කියන එක. මොකද භික්ෂූන් වහන්සේ නමක් කියන්නෙ පොදු වස්තුවක්. පුද්ගලිකත්වයකින් සලකන්න බැරිකමක් නෑ. නමුත් පුද්ගලිකව අයිතිවාසිකම් කියන්න බෑ.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ 6



ප සුගිය කලාපයෙන් විශේෂයෙන් හෙළිදරව් කළේ, දැන් තියෙන පාන් පිටි හෙවත් තිරිඟු පිටි මිශ්‍ර ආහාර පරිභෝජනයේ අඳුරු පැතිකඩ ගැන. මීළඟ හෙළිදරව්වට යන්න පෙර ඒ ගැන තවත් කරුණු කිහිපයක් පැහැදිලි කරන්න තියෙනවා. ලංකාවේ මේ වෙනකොට පරිභෝජනය කරන්න තියෙන ආහාර ගැන සලකා බලනකොට වැඩිපුරම තියෙන්නෙ තිරිඟු පිටි මිශ්‍ර ආහාර. බිස්කට්, කේක්, රොටි, බනිස්, පාන්, කොත්තු... ආදී වශයෙන් කෙටි ආහාරවල පටන් ප්‍රධාන ආහාර දක්වාම තිරිඟු පිටි තමයි මූලික කරගන්නෙ.

හැබැයි මෙතනදි තිරිඟු පිටිත් එක්ක ද්වේශ චිත්තාකාරයක් හදාගෙන ඒවාට පහර ගැහීමක් නෙවෙයි කරන්නෙ. පිටරටින් එන නිසා ප්‍රතික්ෂේප කරන්න කියන එකක් නෙවෙයි මේ කියන්නෙ. කොයි රටේ හැදුවත් ඒකට වස විස මිශ්‍ර නම්, ඒකෙන් නරකක් වෙනව නම් ඒක ප්‍රතික්ෂේප කරන්න ඕන, හංගන්නෙ නැතිව ඒ කාරණය හෙළිදරව් කරන්න ඕන. ඒ වගේම කොයි රටේ හැදුවත් ඒ දේ ගුණදායක නම් ඒ දේ ලෝකයට කියන්න ඕන.

එතකොට මේ මුලින් ස්වභාවිකව වගා කරල වස විස එකතු කරන්නෙ නැතිව, කල් තබා ගන්න රසායන ද්‍රව්‍ය එකතු කරන්නෙ නැතිව හදපු තිරිඟු පිටි තමයි අද වෙනකොට ජාන තාක්ෂණයෙන් විකෘති කරල වගා කරල, වස විස ගහල, විවිධාකාර රසායන ද්‍රව්‍ය එකතු කරල, පෝෂ්‍ය කොටස් ඉවත් කරල රොඩ්ඩ විතරක් ලස්සනට අසුරල අපිට එවන්නෙ. ඉතිං අද විවිධ සමාගම් විවිධ නම්වලින් අසුරල වෙළඳපොළට එවන්නෙ ඔය විදිහට වගා කරන තිරිඟු ඇටවලින් පෝෂ්‍ය කොටස් ඉවත් කරල හදපු පිටි.

ඒ වගේම සමහර නිෂ්පාදකයො මේවට විවිධ රසායන එකතු කරනකොට ඒ කාරණය අපිට ලේසියෙන් අල්ලගන්න බැරිවෙන්න තමයි කරන්නෙ. මොකද දැන් තියෙන නවීන තාක්ෂණය භාවිතා කරල පරීක්ෂණාගාරවල පරීක්ෂණ කරල ඒ තියෙන රසායන අඳුනගන්න පුළුවන් නිසා. ඒ නිසා ඒවා විසාල බහාලුම්වල දාල රත් කරල ඒ රසායනවල ද්‍රව ගතිය වාෂ්ප කරල අපිට ලේසියෙන් අල්ලගන්න බැරිවෙන්න තමයි එවන්නෙ.

ඒ වගේම තිරිඟු පිටි අනනකොට විසිරිලා නොයන්න, එකට එකතු වෙලා තියෙන්නත් ඒ සමහර රසායන හේතු වෙනවා. හරියට සීනි කර කළාම ඇලෙනව වගේ තිරිඟු පිටිවල ඇලෙන ගුණය වැඩි කරගන්නත් එක්ක තමයි ඔය සමහර රසායන එකතු කරන්නෙ. එතකොට ග්ලූටන් වගේ ඇලෙන රසායනවල ප්‍රතිශතය වැඩිවෙන්න ඒක හේතුවක් වෙනවා. ඒ හේතුව නිසාම ස්වභාවිකව නැති ඇලෙන ස්වභාවයක් තිරිඟු පිටිවලට එනවා. නිවුඩ්ඩ ඉවත් කිරීමත් ඒකට එක්තරා ආකාරයකට බලපානවා. ඉතිං වේගයෙන් දුවල යන මනුස්සයෙක් වතුර තිබහ එනකොට අහුවෙච්ච බොර වතුර හරි බොනව වගේ, ශරීරය පවත්වගන්න ඕන නිසා ආහාර මාර්ගයේ තියෙන අංගුලිකාවලින්, ආමාශය තුළදි බිඳ හැරියෙ නැති ඇමයිනෝ අම්ලත් එක්කම ඒ ග්ලූටන් සහිත ආහාර අවශෝෂණය කරන්න යෑමෙන් අංගුලිකා විනාස වෙනවා.

අනෙක් කාරණය තමයි, මේ ගහන වස විස ඒ ධාන්‍යවලට උරා ගැනීමේ හැකියාව හාල්වලට වඩා තිරිඟු ඇටවල වැඩියි. මොකද හාල් ඇටේ පිට පොත්ත ඝනකමයි. තිරිඟු ඇටේ පිට පොත්තට වඩා ශක්තිමත්. මා වී වගේ අපේ පැරණි හාල්වල නන්ඩුව හරි ශක්තිමත්. ඒ නිසා බාහිරින් එන වස විසවලට හොඳට ඔරොත්තු දෙනවා. තිරිඟු ඇටවලට විස පහසුවෙන් කාවදින්න ඒකත් එක හේතුවක් වෙනවා. ඒක ඉතිං පටිච්ච සමුප්පන්නව මේ ලෝකයේ විවිධ ශාක වර්ග බිහිවෙනකොට විවිධාකාර හේතු එකතු වීමෙන් සිද්ධ වෙච්ච දෙයක්. ඒ නිසා හැම ධාන්‍ය වර්ගයක්ම එක වගේ නෑ. බහු හේතුවලින් හටගන්නකොට විවිධාකාර වෙනවා. එතනදි තවත් විශේෂ හේතුවක් තමයි, දැන් හදන තිරිඟුවලින් **වැඩි අස්වැන්නක් ගන්න කියල ජාන විකෘති කරල, මූල පද්ධතිය ඛණිජ ලවණ හොඳින් උරාගන්න පුළුවන් විදිහට වෙනස් කළාම, ඛණිජ ලවණ විතරක් නෙවෙයි වස විසත් ශාකයට හොඳින් උරා ගන්නවා. එතකොට ඒකෙන් හැදෙන ඵලදාවෙත් ස්වභාවික ආරක්ෂණය නැතිවෙනවා, අනාරක්ෂිත වෙනවා.**

එතකොට ආටා පිටි ගැනත් කතා කළා. දැන් මේ ආටා පිටිවල ස්වභාවික පාට කහ පාටට හුරුයි කියල පාරිභෝගිකයො දැනගෙන ඉන්න නිසා, ඒ කාරණය දන්න සමහර නිෂ්පාදකයො මොකද කරන්නෙ, කපටිකමට කහ පාට වර්ණක දාලත් අපිට ආටා පිටි කියල එවනවා. අපේ වෙළඳපොළ අල්ලගන්න තමයි ඒ අය එහෙම කරන්නෙ. නමුත් ඒ රටවල කිසිම තැනක ඔය පිටි නෑ. අපිට විකුණන්න විතරයි ඒව හදන්නෙ. ඒ අය හොඳ තිරිඟු ඇට ගෙනත් ඒ අයට ඕන කොටස තියාගෙන ඉතිරි වෙන රොඩ්ඩට රසායන ☞

දාල වෙන නමකින් අපිට එවනවා. ඒව හුඟක් අනතුරුදායකයි.

ඔය වගේ දෙයක් ඉස්සරත් සිද්ධ වෙලා තියෙනවා. ඒ කාලෙ එක්තරා මිරිස් වර්ගයක් පිටරටින් ලංකාවට ආවා. හැබැයි ඒක ඒ රටේවත් පරිභෝජනය කරන්නෙ නෑ. ජාන තාක්‍ෂණයෙන් විකෘති කරපු ඒ මිරිස් ශරීරයට අහිතකරයි. ඒකෙන් ඇස්වල ස්නායු විනාස වෙනවා. ලංකාවෙ මිනිස්සුන්ගෙ ඇස් අන්ධ කරන්න තමයි ඒක එවල තියෙන්නෙ. මොකද ඊට පස්සෙ ඒකට බේත් කරන්න සිද්ධ වෙන නිසා බේත් මාෆියාවක් ලංකාවෙ වෙළඳපොළේ හදාගන්න ඒ අයට ඕන කරල තිබුනා. ඉතිං ඒ කාලෙ නියඟයක් තිබ්බ්ච නිසා ලංකාවෙ මිරිස් හිඟයක් ආවා. වෙළඳපොළ අල්ලගන්න ඕන නිසා ඒක දඩම්මා කරගෙන ඒ මිරිස් ඉතා අඩු මිලකට තමයි අපිට එව්වෙ. නමුත් වාසනාවකට ඒ අයගෙ ඒ පර්යේෂණය අසාර්ථක වුනා. ඉතිං ඒ රටේ වෛද්‍යවරු රහසිගතව අපේ රටට ඇවිත්, මේ රටේ මිනිස්සු කොච්චර ඒ මිරිස් අනුභව කරනවද, කොච්චරකගෙ ඇස් අන්ධ වෙනවද කියලත් පරීක්‍ෂණ කරල තියෙනවා. නමුත් එහෙම දෙයක් සිද්ධ වුනේ නෑ. මොකද **අපේ හුඟක් ගම්වල මිනිස්සු කුඹුක් ගස් ආශ්‍රිත ඇල දොළ, ළිංවලින් තමයි ඒ කාලෙ නැවෙ. මිනිස්සු ඒ කාලෙ වෙල් වතුරත් බිව්වා. ඒ ජලයේ විස උරා ගැනීමේ විශේෂ ශක්තියක් තිබුනා.** එතකොට ඒ වතුරෙන් අර වස විස උරා ගන්නවා. ඒ පිරිසිදු ජලය ඉතා දීප්තිමත්. ඒ නිසා මිනිස්සුන්ගෙ ඇස් අන්ධ වුනේ නෑ කියලත් ඒ අය හොයා ගත්තා. හැබැයි අද නම් වෙල් වතුර බොන්න තියා හිතන්නවත් බෑ. මොකද ඒ තරම් වස විස.

ඊළඟට මේ තිරිඟු ඇට හෝ වෙනත් මොනවහරි දෙයක් කල් තියාගන්න ඔය රසායන දාන නවීන විස සහිත ක්‍රම භාවිතා කරන්න ඕන නෑ. ඒකටත් ස්වභාවික ක්‍රමයක් තියෙනවා. පොල් ලෙලි එක්ක මිනිස් ශරීරයට හිතකර මට්ටමේ ඉතා සුළු ගෙන්දගම් ප්‍රමාණයක් දාල පුච්චල එන දුමෙන් රත් කළාම ජලය වාෂ්ප වෙලා සෑහෙන කාලයක් කල් තියාගන්න පුළුවන්. ඉස්සර තිබ්බ්ච වී අටුවල වහළට උඩින් ඔය දුම ඇල්ලුවම වීවල තියෙන ජල වාෂ්ප උරාගෙන වේළෙනවා. ඒක විස වෙන්නෙ නෑ. සත්තු කන්නෙත් නෑ. නරක් වෙන්නෙත් නෑ. ඉස්සර මහඉලුප්පල්ලම ප්‍රදේශයේ ඔය කියන විදිහට රතු ඒෑනුත් කල් තියාගත්තා. ඒක ලෝකෙ පිළිගත්තු පාරම්පරික නියම විද්‍යාත්මක ක්‍රමවේදයක්. නමුත් ඒක නොකර ලේසියට, ලාභයට කල් තියාගන්න රසායන එකතු කරනවා. මොකද ඒ පිටුපස්සෙ ඖෂධ මාෆියාව, විස රසායන මාෆියාව වගේ තවත් වෙළඳ ජාවාරම් කිහිපයක්ම කරගන්න පුළුවන් නිසා.

ඉතිං මේ වගේ රසායන එකතු කරපු බාල ආහාර වර්ග අපේ රටට එවන විදෙස් රටවල් ඒ අයගෙ පාවිච්චියට ගන්නෙ වෙනම හදාගත්තු ආහාර. ඒකත් හැබැයි ඒ රටවල වත්පොහොසත්කම් තියෙන අයට කන්න විතරයි. ඒ රටවල වුනත් අඩු ආදායම් ලබන අයට ඒව නෑ. ඒව අපිට එවන්නෙත් නෑ. උදාහරණ විදිහට පසුගිය කාලෙ ලංකාවට ආපු සමහර රාජ්‍ය නායකයො මෙහේ නැවතිලා ඉඳෙද්දි අපේ රටේ ආහාර නෙවෙයි ගත්තෙ. වෙනම තමන්ට කන්න බොන්න ආහාර ද්‍රව්‍ය කෝකියොත් එක්කම ඒ රටින් ගෙනත් ඒව උයාගෙන තමයි කෑවෙ. මොකද ඒ අයත් දන්නවා අපි කන්නෙ බොන්නෙ වස විස කියල. හැබැයි ඒ අයම තමයි ඒ වගේ වස විස මුලින්ම අපිට එව්වෙ. මුලින්ම සහනාධාර විදිහට දීල, කාලයක් ගියාම අඩු මුදලකට දීල අන්තිමට අධික ඉල්ලුමක් ඇති කළා.

එතකොට දැන් සමහර බලවත් බටහිර රටවල්වල අළුත ඉපදෙන ළමයි බහුතරයකටම ඔටිසම් කියන රෝගී තත්ත්වය තියෙනව කියල වාර්තාවලින් එළිදක්වල තියෙනවා. හැබැයි එතනදි සුදු ජාතිකයන්ට වඩා කළු ජාතිකයන්ට තමයි ඒ රෝගී තත්ත්වය වැඩිපුර තියෙන්නෙ. මොකද කළු ජාතිකයන්ගෙ තියෙන දුප්පත්කම නිසා ඒ අයට දෙන සහනාධාරයක් වශයෙන් ඔය වගේ බාල තිරිඟු පිටි මිශ්‍ර ආහාර තමයි බොහෝකොටම ලැබෙන්නෙ. සුපිරි පැළැන්තිය ඒවා ගන්නෙ නෑ. ඒකත් කර්ම විපාකයක් තමයි, නමුත් ඒක වෙනම කතාවක්. ඉතිං ඒ ඌනතාවයත් ජාන හරහා ගිහින් ඒ අයට ඉපදෙන ළමයින්ටත් ඒකෙ ප්‍රතිඵල බලපානවා. ඉපදිච්ච හැටියෙ ළමයි නිසා ඒ අයට ප්‍රතිශක්තිකරණය ඉහළ දාන්න ඒකට බෙහෙත් අවශ්‍යයි. ඒ නිසා ඒ අය ඖෂධ මාෆියාවකුත් හදාගෙන තියෙනවා. ඉතිං සමහර පරීක්‍ෂණ කිය කියා අත්හදා බලන්නෙත් ඔය ඖෂධ මාෆියාවෙන්.

හැබැයි සමහර සමාජවාදී රටවල් මේ වගේ බාල වැඩ කරන්නෙ නෑ, ඔය වගේ විස රසායන ගහන්නෙ නෑ. ඒ අය ගොඩක් දුරට මේ වගේ ආහාර නිෂ්පාදනය කරන්නෙ තමන්ගෙ රටේ පරිභෝජනයට විතරයි. ඒ අය බලාපොරොත්තු වෙන්නෙ හැමතිස්සෙම තමන්ගෙ රටේ ජනතාවගෙ පරිභෝජනය. ඉතිරියක් වුනොත් විතරයි රට යවන්නෙ. එහෙම නැතුව රට යවන ප්‍රතිපත්තියක් නෑ. බුරුමයේ වස විස භාවිතය 1% යි. අපේ රටේ 45% යි. විදෙස් රටවල අයත් දන්නවා අපේ රටේ අධික ලෙස විස රසායන භාවිතා කරන බව. ඒ නිසා දැන් අපේ හාල් විදෙස් රටවලින් මිලදී ගන්නෙ නෑ. (අපේ පැරණි ක්‍රමවලට නැවතත් යොමු වුනොත් ඉදිරියේදි මේ තත්වය වෙනස් කරගන්න පුළුවන්). නමුත් බුරුමය වගේ රටකින් ලේසියෙන් හාල් ගෙන්න ගන්න බෑ. මොකද ඒවාට අධික ඉල්ලුමක් තියෙනවා. ඒ නිසා එච්චර ප්‍රමාණයක් දෙන්න බෑ. ඉතිං ඒ වගේ සුළු ප්‍රමාණයකින් හරි ආහාර අතිරික්ත තියෙන රුසියාව, යුක්‍රේනය, කියුබාව, බුරුමය වගේ රටවල් තියෙනවා. ඒ අය අපේ රටට උදව් කරලත් තියෙනවා. රජය මැදිහත් වෙලා ඒ රටවල් එක්ක රාජ්‍ය තාන්ත්‍රික මට්ටමින් කතා කරල අතරමැදියො ගාවගන්නෙ නැතිව මේ වස විස ගහන්නෙ නැති හොඳ ධාන්‍ය වර්ග / පිටි වර්ග ගෙන්වගන්න පුළුවන්. නමුත් මුදලට තියෙන දැඩි කෑදරකම නිසා ඒක සිද්ධ වෙන්නෙ නැති එකයි ගැටළුව.

ඊළඟට මේ තිරිඟු පිටිවලින් ආහාර හදනකොට පිටි පිපෙන්න, ඉස්සර අපේ අම්මල දැම්මෙ රා මණ්ඩි වගේ ස්වභාවික දේවල්. ඒකෙන් හොඳට පිපෙන නිසා සාමාන්‍ය දුප්පත් පවුලකට කන්න රොටි 7 - 8 ක් හදාගන්න පුළුවන් වුනා. ඊට පස්සෙ කාලයක් යද්දි නිෂ්පාදකයො යීස්ට් දැම්මා. නමුත් දැන් ඒ සීමාවත් ඉක්මවා ගිහින් ඊටත් වඩා බලවත් කෘතිම පිපුම් කාරක තමයි දාන්නෙ. මොකද ඒවා දැම්මම සුළු ග්‍රෑම් ප්‍රමාණයකින් හදන ඒ කෙටි ආහාරය හොඳට ඔප් නැංවිලා ලොකුවට පෙනුමට පේනවා. ඇතුලෙ හොඳට වායුව රැඳිල බර නැති වුනත් පිටින් ලොකුවට පේනවා. වෙළඳපොළේ තියෙන කේක්, බනිස්, පාන් වගේ කෙටි ආහාර පරීක්‍ෂා කරල බැලුවොත් ඒවායේ E 471, 475, 500 (ii), 503 (ii) ආදී වශයෙන් පිපුම් කාරකවල නම් සඳහන් වෙනවා. ඒ රසායන සංයුතියේ බලය වැඩි නිසා පිළිකා කාරක බවත් වැඩියි. ඒකෙ තව අවස්ථාවක් තමයි දියවැඩියාවත් එක්ක එන ස්නායු ආබාධ.

ඊළඟට මේ තිරිඟු පිටිවල

තියෙනවා හිතකර / අහිතකර කියල මේදය කොටස් දෙකක්. එයින් අහිතකර මේද කොටසේ රසායනික සංයුතිය ප්‍රභලයි. එතකොට කොලෙස්ටරෝල් වැඩිවෙලා නහරවල බැඳෙනකොට නහර හීන් වෙලා රුධිර පීඩනය වැඩි වෙනවා. මේ වගේ බොහොමයක් අතුරු ආබාධ මේ විස සහිත ආහාර පරිභෝජනය නිසා ඇතිවෙනවා.

දැන් තිරිඟු පිටි සහ ඒ ආශ්‍රිත නිෂ්පාදන ගැන කතා කරනකොට, ඒ සම්බන්ධයෙන් හොඳ අත්දැකීමක් ලබපු, වැදගත් වෘත්තියක නියැලෙන, මේ සඟරාව කියවන පාඨකයෙක් තමන්ගෙ අත්දැකීමක් මේ විදිහට හෙළිදරව් කරන්න ඉදිරිපත් වුනා. ඔහු කළුබෝවිල පදිංචි ජයමිණි එදිරිසිංහ මහතා. මේ තමයි ඔහුගේ අත්දැකීම.

"සෞඛ්‍ය සම්පන්න ජීවන රටාවක් හා නිරෝගී පැවැත්මක් ගැන නිතර කතා කරන මේ කාලයේ මගේ පෞද්ගලික අදහසක් සහ අත්දැකීමක් හැටියට මේ හෙළිදරව්ව කරන්න අදහස් කළා. ඇත්තටම හේතුඵල දහමේ ප්‍රතිඵලයක් විදිහට අපි ඉපදිච්ච රට, ජාතිය වගේම සංස්කෘතිය ආදී දේ කොතරම් අපූරුවට තිබුනත් පොඩ්ඩක් කල්පනා කරල බලල, අපිට කරගන්න තියෙන හරි දේ කරගන්න තියෙන නොහැකියාව ගැන සහ මේ නූතන දැනුම මගින් ඒ නොහැකියාවට අපිව පත්කරල තියෙන ආකාරය ඉතාම කණගාටු දායකයි.

පරිසරය, පෝෂණය සහ නිරෝගී මානසිකත්වය මගින්ම පමණක් සෞඛ්‍ය සම්පන්න ජීවිතයකට හිමිකම් කියන්න පුළුවන් බව නැවත නැවතත් පුන පුනා අවුරුදු දහස් ගණනක ඉතිහාසය මගින් අපට උගන්වනවා.

පදාර්ථමය විද්‍යාව මත පදනම් වූ නූතන භාග වෛද්‍ය විද්‍යාව මගින් අපට නිතර නිතර මතක් කරන්නෙ මොකක්ද? දියවැඩියාව, හෘද රෝග ආදී එකී මෙකී නොකී විෂම රෝග සඳහා හේතු සොයා ගැනීමට නොහැකිව අතරමං වූ ඔවුන් බොහොමයක් බෝවන රෝගවලට හේතු කාරක ලෙස මුල් කාලයෙදි නොයෙක් ආකාර වෛරස්, බැක්ටීරියා, දිලීර ආදිය පෙන්වා දුන්නා. ඉන් පසුව ඉතා සාහසික ලෙස තවත් සමහර බෝ නොවන රෝගවලට හේතු කාරක විදිහට ගෙදර බුදුන් ලෙස සලකන අම්මා, තාත්තා ආදී තමන්ගෙ උත්තම ජන්ම පුරුකවල් වරදකරුවන් බවට පත් කරගෙන තියෙනවා. ඒ තමයි පරම්පරාවෙන් එනව කියන කාරණය. ඒක මහා අපරාදයක්.

කෙසේ වුවත් මේ කරුණු හේතු සාධක සහිතව කතා කරන්න පසු අවස්ථාවකදි බලාපොරොත්තු වෙනවා. මේ සඟරා කලාපවලින්, මේ කරුණු සනාථ කිරීම සඳහා ඉතාමත් හරබර ලිපි බොහොමයක් ඉදිරිපත් කරල තියෙනවා. ඊට අමතරව අපි මුහුණ දීල තියෙන භයානක ආහාර ගැටළුව පිළිබඳව මගේ පෞද්ගලික අත්දැකීමක් ඉදිරිපත් කරන්න මෙය අවස්ථාවක් කරගන්න මම කල්පනා කළා.



අපේ පවුලේ සාමාජිකයින් ඉඩ ලැබෙන විදිහට සෙනසුරාදා, ඉරිදා දිනවල රාත්‍රී ආහාර ලෙස රොටි, ඉඳිආප්ප, ඉඩ්ලි ආදිය දර ලිපක් භාවිතා කරමින් පිළියෙල කර ගන්න අලුත් පුරුද්දක් ඇති කර ගත්තා. මීට පෙර සමහර අවස්ථාවල මේ වගේ ආහාර කෙලින්ම කඩයෙන් මිලදී ගන්න අපි ක්‍රියා කළා.

මේ කියන දවසෙදිත් මම දරුවන් ලවා කඩයකින් ඉඩ්ලි සෑදීම සඳහා පිටි මිශ්‍රණ දෙකක් මිලදී ගත්තා (නම සඳහන් කිරීමට අකමැති වුවත් අද වෙළඳපොළේ ඉතාමත් ඉහලින් විකිණෙන ඇසුරුම් කළ ආහාර නිෂ්පාදනය කෙරෙන ආයතනයක නමක් තමයි එහි සඳහන් වුනේ).

මම ඒ පිටි අසුරන විවෘත කරල මැටි භාජනයකට එකතු කළා. ඉන්පසු අත් පිරිසිදු කරගෙන පිටි මිශ්‍ර කිරීම සඳහා ඒ භාජනයට ජලය එකතු කළා. පුදුමයි ! කුඩා කාලයෙදි බැලූන් උඩ යවන්න අළු හුණුවලට ජලය දැම්ම වගේ, මගේ අත රත්වෙන්න පටන් ගත්තා. ජලය එකතු කරනවත් එක්කම ඒ පිටි අංශුවල තාපය වැඩි වුණා. කුඩා ළමයෙකුට බොන්න දෙන කිරි බෝතලයක තියෙන රස්නය ප්‍රමාණයටම ඒ රස්නය මට දැනුනා.

ඉන්පසු, පරිසරය ගැන ඉතා සංවේදී මට දැනුණු අනෙක් කාරණය තමයි, මේ පිටි අංශු ඉතාම සිනිඳුයි. මට ප්‍රායෝගිකව මෙතෙක් දැනුණු ඉතාම සුමට, සිල්ක් ස්වභාවයක් එහි තිබුණා. මම ඉඩ්ලි හදන එක නවත්වල ඒ පිටි භාජනයට ජලය දාල කලවම් කරන්න ගෙදර අනෙක් අයටත් අවස්ථාව දුන්නා. ඔවුනුත් ඒ කාරණය අත්වින්දා. පුදුමයි, මීට කලින් දිනවලත් අපේ ගෙදර ඉඳිආප්ප හදන්න මේ වර්ගයේම පිටි භාවිතා කරල තිබුණත්, මේ වගේ දෙයක් මගේ බිරිඳ පවසල නෑ. මම ඒ ගැන විමසනකොට ඇය පැවසුවේ, ඇය පිටි කලවම් කරන්න නිතරම හැඳි මිටක් යොදා ගන්න බව. ඒ නිසා ඒ අත්දැකීම ඇයට දැනිල නෑ.

කෙසේ වෙතත් ඒ මොහොතේ පටන් අපේ නිවසේ තිබිච්ච මේ ආකාරයේ පිටි නිෂ්පාදන සියල්ල කුණු භාජනයට එකතු කළා. ඒ වගේම එදින පටන් සියළු ආකාරයේ පිටි ආහාර ගෙදරට ගෙන ඒම සම්පූර්ණයෙන්ම නවතා දැම්මා.

මම ඒ පිළිබඳව දැනුවත් වීම සඳහා ඊට පසු දින ඒ ආයතනයේ නිලධාරියෙක් දුරකතනය මගින් සම්බන්ධ කරගෙන පිපුම් කාරක සහ අනෙකුත් එක්කර ඇති අනුමත රස කාරක ගැන විමසුවා. හරි පුදුමයි. ඒ පිළිබඳව අදාළ නිලධාරියා කිසිවක් නොදන්නා බව පවසා දුරකතනය ඒ ආයතනයේ මාණ්ඩලික නිලධාරියෙකු හා සම්බන්ධ කළා. ඔහුත් ඒ පිළිබඳව කිසිවක් ප්‍රකාශ කිරීමට නොහැකි බවත්, ඔවුනුත් ලංකාවේ අනෙකුත් එවැනි පිටි නිෂ්පාදනය කරන ආයතන වගේම පොදු සැපයුම්කරුවකුගෙන් මේවා මිලදී ගන්නා බවත් පැවසුවා. පසුව මම මේ අනුමත පිපුම් කාරක සහ රස කාරක අංකවලට අදාළ රසායනික ව්‍යුහය සොයා ගත්තා.

ඉන්පසු මම තවත් නිෂ්පාදන ආයතන දෙකක්ම ඇමතුවා. ඔවුන්ගෙ ප්‍රතිචාරයත් කලින්



# අනේ අනිච්චං?

## ඔබ ප්‍රඥාවන්තයෙක්ද?

**6 වන කොටස**

**ශ්‍රාවක :** අපි මෙච්චර කල් සාකච්ඡා කරපු කරුණුවලින් වැරදියට වටහාගෙන තිබ්ච්ච දහම් කරුණු රාශියක්ම නිවැරදිව අවබෝධ කරගන්න පුළුවන් වුනා. අපි තවමත් වැරදියට ඉගෙනගෙන ඉන්න ඒ වගේ තවත් වැදගත් කරුණු තියෙනවද?

**දේශක :** වැඩිපුරම තියෙන්නෙ වැරදියට වටහාගත්ත ඒව තමයි. ඒක තමයි ලංකාව බෞද්ධ රටක් වුනත් ඒ බවක් පේන්න නැත්තෙ.

**ශ්‍රාවක :** ඒ වගේ වැරදුන තැන් පෙන්වල දෙනව නම්, මං වගේ මේ දහම වැරදියට තේරුම් ගත්ත අයට නිවැරදි දහම තේරුම් අරගෙන යහ මගට එන්න ලොකු උපකාරයක් වෙනවා.

**දේශක :** එහෙනම් අපි අද වැරදියට වටහගෙන තියෙන ඉතාමත්ම වැදගත් ධර්මයක් ගැන කතා කරමු. ඔබත් අහල ඇති, මේ ලෝකය අනිත්‍යයි දුක්ඛයි අනාත්මයි කියල විස්තර කරන දහම් කරුණු තුනක් ගැන. ඒකට තමයි ත්‍රිලක්ෂණය කියල කියන්නෙත්.

**ශ්‍රාවක :** ඔය ත්‍රිලක්ෂණය කියන්නෙ මේ ලෝකෙ තියෙන ලක්ෂණ තුනක්නෙ. ඔය අනිත්‍ය දුක්ඛ අනාත්ම අවබෝධ කරගත්තු අය තමයි නිවන් දකින මාර්ගයේ ඉහළටම යන්නෙ කියල මම නම් අහල තියෙන්නෙ.

**දේශක :** ඔව් ඒක හරි. හැබැයි ඔය අනිත්‍යයි දුක්ඛයි අනාත්මයි කියල කියන පද තුනම සංස්කෘත භාෂාවෙ වචන.

**ශ්‍රාවක :** ඒක මම දන්නෙ නැනෙ. මං හිතාගෙන හිටියෙ අනිත්‍යයි කියන්නෙ සිංහලෙන් කියල.

**දේශක :** බුදු රජාණන් වහන්සේ ඔය වචන තුනෙන් දේශනා කරල තියෙන්නෙ මේ ලෝකෙ හැටි. හැබැයි බුද්ධ දේශනාවක් හැටියට ත්‍රිපිටකයේ සඳහන් වෙන්නෙ අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල. අන්න ඒ පද තුන සිංහලට පරිවර්තනය කරනකොට, සිංහල වෙනුවට සංස්කෘත වචන යොදල අනිත්‍යයි දුක්ඛයි අනාත්මයි කියල ත්‍රිපිටකයේ සිංහල පරිවර්තනයේ ලියල තියෙන්නෙ.

**ශ්‍රාවක :** සිංහලෙන් ඒ වචනවල තේරුමට ගැලපෙන වචන නැති නිසා සංස්කෘත භාෂාවෙන් ලිව්වද දන්නෙ නෑ ?

**දේශක :** නෑ, එහෙම හිතන්න අමාරුයි. මොකද ත්‍රිපිටකයේම වෙනත් තැන්වල ඒ වචනවලට සිංහල අරුත් දීල තියෙනවා. හැබැයි ගොඩක් තැන්වල තියෙන්නෙ සංස්කෘත වචනවලින් තමයි.

**ශ්‍රාවක :** එකම ත්‍රිපිටකයේ සිංහල, සංස්කෘත දෙකෙන්ම අර්ථ තියෙනවද? එහෙම වුනේ කොහොමද?

**දේශක :** මේ ත්‍රිපිටක ග්‍රන්ථවලට අයත් පොත් 57 ක් තියෙනවා. මේ වගේ සැහෙන්න ලොකු පොත් 57 කට අදාල කරුණු පරිවර්තනය කරනව කියන්නෙ මහා ☞

---

වගේම වුනා. මේකෙන් පැහැදිලි වෙන්නෙ මොකක්ද? තමන් භාවිතා කරන පිපුම් කාරක, රස කාරක පිළිබඳව නිෂ්පාදකයින් තුලත් පැහැදිලි අවබෝධයක් නැති බව.

මට මතක් වුනා පොඩි කාලෙදි අපේ අම්ම පිටි අනනකොට මම ළඟ හිටියත් බැනුම් අහනවා. මොකද අනන පිටි ගුලිය නිතරම අතින් අල්ලන්න හදනවා. ඒක සීතලයි, සුවඳයි, රළුයි. නමුත් අද ඒ රළු ගතිය වෙනුවට ඉතාමත් සිනිඳු, කිසිම සුවඳක් නැති, හිමවලටත් වඩා සුදු කුඩු වර්ගයක් පිටි විදිහට භාවිතා කරනවා. මට හැඟී යන්නෙ මේ පිරිසිදු කිරීමේ ක්‍රියාවලිය ඉතා විනාසකාරී බව.

මම හිතනවා, ඔබත් මම වගේ මෙවැනි පිටි ආහාරවලින් වලකින ගමන්, කුඩා ළමයින්වත් මේ ගැන දැනුවත් කරමින් පිටි කෑම වෙනුවට බත් සමග පොල් සම්බෝලයක් හෝ ආහාරයට ගන්න පුරුදු කිරීම ඉතාමත් යෝග්‍ය බව.’’

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

භාරධූර විස්මිත කාර්යක්. ඒ සඳහා අපේ ගෞරවනීය ස්වාමීන් වහන්සේලා සහ ගිහි පින්වතුන් වචනයෙන් කියන්න බැරි තරම් මහත් වෙහෙසක් දරල තියෙනවා. ඒකට දායක වුන සමහර ස්වාමීන් වහන්සේලා සමහර සූත්‍ර දේශනා පරිවර්තනය කරද්දි ඔය වගේ සංස්කෘත වචන පාවිච්චි කරල තියෙනවා.

**ශ්‍රාවක :** එහෙම වචන කීපයක් සංස්කෘත භාෂාවට පරිවර්තනය වුනාම ලොකු වෙනසක් වෙන්න විදිහක් නැනෙ. ඕනම භාෂාවකට වෙනත් භාෂාවක වචන එකතු වෙනවනෙ !

**දේශක :** ඔව් ඒක ඇත්ත තමයි. නමුත් මේ වචන තුනේ තමයි මූල ධර්මය ගැබ්වෙලා තියෙන්නෙ. මූල ධර්මය වැරදියට වටහා ගත්තොත් නිවැරදි දහමක් තේරුම් ගන්න පුළුවන් වෙයිද? බුදු රජාණන් වහන්සේ අනිච්ච දුක්ඛ අනත්ත කියන වචන තුනෙන් පෙන්වල දීල තියෙන්නෙ මේ ලෝකයේ යථා ස්වභාවය. ඒක සාමාන්‍ය කෙනෙකුට තනියෙන් දකින්න පුළුවන් දෙයක් නෙවෙයි. එහෙම පෙන්වල දීල තමයි අපිට උන්වහන්සේ දේශනා කරන්නෙ, හැකි ඉක්මනින් මේ ලෝකයෙන් මිදෙන්න කටයුතු කරන්න කියල. මේ ලෝකයේ යථා ස්වභාවය නොදන්න, නොදක්ක කිසිම කෙනෙක් මේ ගමන නවත්වන්න කටයුතු කරන්නෙ නෑ. අනන්ත සංසාරයේ ලෝක සත්වයින් දුක් විඳිමින් සැරිසරන්නෙ මේ යථා ස්වභාවය නොදක්ක නිසාම තමයි. එදා බුදු රජාණන් වහන්සේ පෙන්වල දීපු නියම ලෝක ස්වභාවය මේ සංස්කෘත භාෂාවෙ වචන තුනෙන් විග්‍රහ වෙන්නෙ නැත්නම්, ඒ කියල තියෙන ආකාරයට ලෝකය අනිත්‍යයි දුක්ඛයි අනාත්මයි කියල දැනගත්ත අය සංසාරෙන් මිදෙන්න කටයුතු කරයි කියල හිතන්න පුළුවන්ද?

**ශ්‍රාවක :** බුදු රජාණන් වහන්සේ පෙන්වල දීපු කාරණය ඒ වචනවලින් වැටහුනේ නැත්නම්, ඒ කාටවත් මිදෙන්න පුළුවන් වෙයි කියල කොහෙත්ම හිතන්න අමාරුයි. ඒ මොකද කියනව නම්, බුදු රජාණන් වහන්සේ අපිට පෙන්වල දෙන්නෙ මීට පෙර කිසිම කෙනෙක් අහපු නැති දහමක්නෙ. ඒ වගේ දහමක් බුදුන් වහන්සේ විසින්ම දකල අපිට පැහැදිලිව බෙදල කියල දෙන ආකාරයට ඇරෙන්න, වෙන වෙන දේවල් පැටලුවොත් මේ දහම අපේ ඥාණයට ගෝචර වෙන්නෙ නෑ.

**දේශක :** බොහොම හොඳයි. ලොව්තුරා බුදු රජාණන් වහන්සේලා දේශනා කරන්නෙම ඒ කාලයේ ජීවත් වෙන මනුස්සයින් මීට පෙර අහපු නැති දහමක්මයි. ඒක තමයි පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු (පෙර නොඇසූ දහම) කියන්නෙ. ඒ නිසාම උන්වහන්සේලාට පමණක් තියෙන විශේෂ ඥාණවලින් තමයි මේ දහම අපිට තේරුම් ගන්න පුළුවන් විදිහට විග්‍රහ කරල විස්තර කරල පෙන්වල දෙන්නෙ. ඒ වගේ විශේෂ ඥාණයකින් බෙදල විග්‍රහ කරන වැදගත් ධර්ම කරුණුවලට වෙනත් භාෂාවල වචන පටලවල විකෘති කරගත්තොත් නම් ඉතිං ඊට පස්සෙ නියම අර්ථය මතු කරගන්න සෑහෙන්න වෙහෙසක් දරන්න සිද්ධ වෙනවා. නමුත් බුදු රජාණන් වහන්සේ විග්‍රහ කරල දුන්න නිවැරදි අර්ථය මතු කරගන්න පුළුවන් නම් භාෂාව මොකක් වුනත් ප්‍රශ්නයක් වෙන්නෙත් නෑ.

**ශ්‍රාවක :** එහෙම කල්පනා කරල බලනවනම්, ඔය සංස්කෘත භාෂාවෙ වචනවලින් වුනත් අපිට නියම අර්ථය මතු කරගන්න බැරි වෙන්න විදිහක් නැනෙ.

**දේශක :** ඔව්. නිවැරදිව අර්ථය විග්‍රහ වෙන වචන පාවිච්චි කරල තියෙනවනම් එහෙම ප්‍රශ්නයක් වෙන්නෙ නෑ.

**ශ්‍රාවක :** එතකොට ඔය අනිත්‍ය දුක්ඛ අනාත්ම කියන වචන තුනේ නිවැරදි අර්ථය මතු වෙන්නෙ නැත්ද?

**දේශක :** අන්න ඒක තමයි අපි දැන් හොයන්න ඕන. ඒකට අපිට පරීක්ෂණයක් කරන්න සිද්ධ වෙනවා. ත්‍රිපිටකයේ සූත්‍රවල සඳහන් විවිධ ධර්ම කාරණාවලට ඔය වචන තුන යොදල බලන්න වෙනවා, ඒ අවස්ථාවලදි අර්ථය ගැලපෙනවද නැත්නම් පරස්පර වෙනවද කියල.

**ශ්‍රාවක :** ඒක මොන වගේ පරීක්ෂණයක්ද? ඒ ගැන විස්තර ටිකක් දැනගත්තොත් හොඳයි.

**දේශක :** ඒක එච්චර අමාරු වැඩක් නෙවෙයි. ත්‍රිපිටකයේම ඔය වචන තුනට සිංහල වචන භාවිතා කරල තියෙනවා. ඒ වගේම සංස්කෘත වචනත් භාවිතා කරල තියෙනවා. දේශනාවෙ සඳහන් වෙන ඒ වගේ වැදගත් ධර්ම කරුණු තියෙන තැන්වලට අපි සිංහල වචනයේ තේරුම යොදල බලනවා. ඒ අවස්ථාවන් දෙකේම මතු වෙන අර්ථය පරීක්ෂා කරල බලනවා. ඒ ඒ අවස්ථාවලදි වඩාත් ගැලපෙන අර්ථය මතු කරගන්න පුළුවන් වෙන්නෙ සිංහල වචනයෙන්ද සංස්කෘත වචනයෙන්ද කියලත් නැවත පරීක්ෂා කරල බලනවා. එහෙම බැලුවට පස්සෙ අපිට තීරණය කරන්න පුළුවන්, නියම අර්ථය මතු කරල දෙන්න වඩාත් සුදුසු වෙන්නෙ සිංහල වචනයද එහෙමත් නැත්නම් සංස්කෘත වචනයද කියල.

**ශ්‍රාවක :** ඒ ආකාරයට පරීක්ෂා කරල බැලුවොත් නම් ඉතිං කොහොමටත් ගැලපෙන වචනය තෝර ගන්න පුළුවන් වෙයි. මොන ක්‍රමයකින් හරි මේ ප්‍රශ්නය විසඳ නොගත්තොත්, අපිට මේ ලෝකෙ යථා ස්වභාවය නිවැරදිව තේරුම් ගන්න බැරි වෙයි කියල තමයි මට හිතෙන්නෙ. ඔය සංස්කෘත වචන නොගැලපෙන තැනක් ගැන උදාහරණයක් ගත්තොත් මේ පටලැවිල්ල තේරුම් ගන්න පහසු වේවි.

**දේශක :** හොඳයි අපි එක උදාහරණයක් අරගෙන බලමු. අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල විග්‍රහ කරල තියෙන්නෙ මේ ලෝකෙ යථා ස්වභාවය. හැබැයි ඒක දකින්න පුළුවන් වෙන්නෙ, බුදු රජාණන් වහන්සේ දේශනා කළ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කිරීමෙන් පස්සෙ. බුදු රජාණන් වහන්සේගෙන් හෝ උන්වහන්සේගෙන් අසා දැනගත් ශ්‍රාවකයන් වහන්සේ නමකගෙන් හෝ අහගෙන මිසක් වෙන ක්‍රමයකට ඒ ස්වභාවය දැනගන්න පුළුවන් කමක් නෑ. නමුත් අනිත්‍යයි කියන්නෙ ස්ථිර නෑ, වෙනස් වෙලා යනව කියන අර්ථයෙන් නම්, මේ ලෝකෙ ස්වභාවය, ස්ථිර නෑ වෙනස් වෙලා යනව කියන එක නම්, ඒ ස්වභාවය දකින්න සාමාන්‍ය අයට බැරිද? **මේ ලෝකෙ පවතින ස්ථිර නැති ස්වභාවය කියන්නෙ, බුදු රජාණන් වහන්සේ නමක් පහළ වෙලා පෙන්වා දෙන කල්ම කාටවත් දකින්න බැරි දෙයක්ද?** ඔය ඕනම කෙනෙක් අරගෙන බැලුවත්, ඒ අය වටා සම්බන්ධ වෙලා ඉන්න පිරිසත්, ඒ වගේම නොයෙක් ද්‍රව්‍ය වස්තූන් ස්ථිර ඒවද?

**ශ්‍රාවක :** ඒ එකක්වත් ස්ථිරව තියෙන ඒවා නෙවෙයි. ඒ සියල්ලම ස්ථිර නැති බව අපි හැමෝම දන්නවනෙ.

**දේශක** : ඉතිං ඒක ලොව්තුරා බුදු කෙනෙක් පහළ වෙලා පෙන්වල දෙන්න ඕන කාරණයක්ද?

**ශ්‍රාවක** : බුදු රජාණන් වහන්සේ නමක් පහළ වෙලා පෙන්වා දෙන කල්ම කවුරුවත් දන්නෙ නැති, දැක්කෙ නැති ලෝකයේ නියම ස්වභාවය කියන්නෙ, ස්ථිර නැති ස්වභාවය වෙන්න බෑ කියල දැන් මටත් හිතෙනවා.

**දේශක** : ඔබට මතක ඇති, අපි කලින් කතා කළ කාලාම සූත්‍රයෙන් බුදු හාමුදුරුවො පෙන්වා දීල තියෙනවා, කරුණු කාරණා විමර්ශනය කරල තමන්ම වටහා ගන්නව මිසක් කවුරුවත් කියන ඒවා නිකම්ම පිළිගන්න එපා කියල.

**ශ්‍රාවක** : ඒක ඇත්ත තමයි. නිකම්ම පිළිගන්නෙ නැතිව කරුණු කාරණා විමර්ශනය කරල, අනිත් ධර්ම කරුණුත් එක්ක ගලපල බලන කොට තමයි මෙතන පටලැවිල්ලක් තියෙන බව වැටහෙන්නෙ.

**දේශක** : අන්න ඒ විදිහට කරුණු කාරණා විමර්ශනය කරල අනෙක් ධර්ම කරුණුත් එක්ක ගලපල බලල තමන්ම ධර්මය වටහාගන්න උත්සාහ කරන අයට තමයි ප්‍රඥාවන්තයො කියල කියන්නෙ. හැබැයි ඒ වගේ අයට ඔය වචන මොකක් වුනත් ප්‍රශ්නයක් වෙන්නෙ නෑ. මොකද ඒ වගේ අය ඔය වචන පස්සෙ යන්නෙ නෑ, විමර්ශනයෙන් යථා අර්ථය අවබෝධ කරගන්නවා. ඒ යථාර්ථය මොකක් වුනත්, ඔබ මෙතෙක් කල් දැනගෙන හිටිය නම් මේ ලෝකය අනිත්‍යයි දුක්ඛයි අනාත්මයි කියල, ඒ අදහස ඔබ තේරුම් අරගෙන තිබුනෙ මොන ආකාරයෙන්ද කියල ටිකක් විස්තර සහිතව කියන්න බලන්න.

**ශ්‍රාවක** : අනිත්‍ය කියන එකට මම හිතාගෙන හිටියෙ, මේ ලෝකෙ කිසිම දෙයක් ස්ථිර නෑ කියල, සියල්ල විනාස වෙලා යනව කියල. සමහර අවස්ථාවලදි මේ දේවල් මට නැති වුනාම, මොනව කරන්නද ඒව ඉතින් අනිත්‍යයි කියල මම මගේ හිත හදාගන්න උත්සාහ කළා. දුක්ඛ කියන එක ගැන මම හිතුවෙ, ලෝකෙ ජීවත් වෙන අයට මහ දුක් ගොඩක් විඳින්න වෙනව කියල. ලෙඩ රෝග, හදිසි අනතුරු වගේ ශරීර පීඩාවන්, ඒ වගේම ගංවතුර සුනාමි වගේ ස්වභාවික විපත්, ඒ වගේම විවිධ හේතු නිසා ඇතිවන මානසික පීඩා ආදිය තමයි මම දුක්ඛ කියල හිතාගෙන හිටියෙ.

**දේශක** : අනාත්මයි කියන වචනය ගැන මොන වගේ අදහසක්ද ඔබට තියෙන්නෙ?

**ශ්‍රාවක** : මම හිතාගෙන හිටියෙ අපිට ආත්මයක් තියෙනව කියල. ඇයි ඉතිං අපි කියන්නෙ මේ ආත්මෙ කරපුව තමයි ඊළඟ ආත්මෙ එල දෙන්නෙ කියල. නමුත් අනාත්මයි කියන එකෙන්, එහෙම ආත්මය කියල එකක් අපිට නැහැ කියල බුදු හාමුදුරුවො දේශනා කරල තියෙනව කියල දැනගත්තා. බුදු දහම කියන්නෙ අනාත්ම වාදයක් කියලත් මම අහල තිබුනා. ඇත්තම කියනව නම්, මම ඔය අනාත්මයි කියන එක ගැන නියම අදහසක් දන්නෙ නෑ. තමන්ගෙ වසඟයේ තියාගන්න බැරි නිසා අනාත්මයි කියලයි මම අහල



තියෙන්නෙ. මොනවද මගේ වසගෙ තියා ගන්න බැරි කියල මට වැටහීමක් නම් නෑ.

**දේශක** : ඔය වගේ පැටලිලි සහිත තත්ත්වයකට ශ්‍රාවකයින් පත්වෙන්න පුළුවන් නිසා තමයි බුදු රජාණන් වහන්සේ බුදු දහම සංස්කෘත භාෂාවට පරිවර්තනය කරන්න එපා කියල දේශනා කරල ඇවැත්තක් පනවලත් තියෙන්නෙ. (චුල්ල වග්ග පාලි 2, 101 පිටුව)

**ශ්‍රාවක** : එහෙම තහනම් කරලත් තියෙනවද? අනේ මම ඒ ගැන මුකුත් දන්නෙ නැනෙ. හැබැයි මට තියෙන ප්‍රශ්නය තමයි, ඇයි ඒ විදිහට එහෙම කළේ කියන එක. මේ වගේ දහමක් සංස්කෘත භාෂාව කතා කරන අය දැනගන්න එකෙන් අවැඩක් වෙන්නෙ කොහොමද?

**දේශක** : මෙතනදි බුදු රජාණන් වහන්සේ තහනම් කරල තියෙන්නෙ සංස්කෘත භාෂාවට පරිවර්තනය කරන එක විතරයි.

**ශ්‍රාවක** : ඒ මොකද සංස්කෘත භාෂාවට විතරක් පරිවර්තනය කරන එක තහනම් කළේ?

**දේශක** : ඒකට හේතු වශයෙන් උන්වහන්සේ විශේෂ වැදගත් කරුණු 4 ක් සඳහන් කරල තියෙනවා. ඒ හතරෙන් පැහැදිලි කරල තියෙන්නෙ, ඉදිරි කාලයෙදි යම් අයෙක් මේ දහම සංස්කෘත භාෂාවට පරිවර්තනය කළොත් ශ්‍රාවකයින්ට සිදු වන අනතුර ගැන.

1. සංස්කෘත භාෂාවට මේ දහම පරිවර්තනය කිරීම, දැනට මේ දහමට පැහැදිලා නැති අයගෙ පැහැදීම ඇති-වෙන්න හේතුවක් වෙන්නෙ නෑ.

2. සංස්කෘත භාෂාවට මේ දහම පරිවර්තනය කිරීම, දැනට මේ දහමට පැහැදිලා ඇති අයගෙ පැහැදීම වැඩි වෙන්න හේතුවක් වෙන්නෙත් නෑ.

3. සංස්කෘත භාෂාවට මේ දහම පරිවර්තනය කිරීම, දැනට මේ දහමට පැහැදිලා නැති අයගෙ පැහැදීම නැත්තටම නැති වෙලා යන්න හේතු වෙනවා.

4. සංස්කෘත භාෂාවට මේ දහම පරිවර්තනය කිරීම, දැනට මේ දහම ගැන පැහැදිලා ඇති අයගෙ පැහැදීම වෙනස් වෙලා යන්න හේතු වෙනවා.

මෙතනදි 1 හා 3 න් කියවෙන කාරණා ගැන කෙනෙකුට පටලැවීමක් එන්න පුළුවන්. අංක 1 න් කියන්නෙ, ඉස්සෙල්ල බණ ටිකක් අහල විශේෂ පැහැදීමක් නැති අය ගැන. ඒ අයගෙ විශේෂ පැහැදීමක් නැඟී හිටින්න හේතු වෙන්නෙ නෑ. අංක 3 න් කියන්නෙ, බණ අහලම නැති, එහෙම නැත්නම් බණ අහලත් පැහැදිලා ඇත්තෙම නැති අය ගැන. ඒ අයට යම් කිසි පැහැදීමක් එන්න අවස්ථාව තිබුන නම් ඒ අවස්ථාවත් නැතිවෙනව කියන එකයි මේ කියන්නෙ. පැහැදිලා ඇති අය කියන්නෙ සෝතාපන්න ☞

ඵලයට කිට්ටුවෙන් ඉන්න අය.

එතකොට මේ සංස්කෘත භාෂාව කියන්නෙ කිසිම අවස්ථාවක කාගෙවත් මව් භාෂාවක් නෙවෙයි, ඒ කාලෙ හිටපු බමුණො මාන්නක්කාරකමට හදාගත්තු එකක්, අනෙක් අයට පහර ගහන්න හදපු එකක්. අනෙක් අය ඒ අයට යටත් වෙලා කටයුතු කරන්න ඕන කියන අදහසේ හිටිය මිසක් අනෙක් කෙනෙක් කියන දෙයක් ඒ අය අහන්නෙ නෑ. ඒ නිසා බුදුන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට ඒක බාහිර ලෝකායත සාස්ත්‍රයක් විදිහට පෙන්වල සංස්කෘත භාෂාව ඉගෙන ගන්නත් එපා කිව්වා. මගඵල ලබන කෙනෙක් ඔය බාහිර සාස්ත්‍ර දරනවද කියල භික්ෂූන් වහන්සේලාගෙන් ඇහුවා. දරන්නෙ නෑ ස්වාමීනි කිව්වා. දරන කෙනෙක් ඉන්නව නම් මගඵල ලබන්න පුළුවන්ද ඇහුවා. බෑ ස්වාමීනි කිව්වා. යම් කිසි කෙනෙකුට මගඵල ලබන්න ඕන නම් ඔය බාහිර සාස්ත්‍ර ඉගෙන ගන්නවද කියල ඇහුවා. නෑ ස්වාමීනි කිව්වා. ඒ සඳහා වෑයම් කරන්න ගියොත් මගඵල ලැබීමක් නෑ කිව්වා. මේ විදිහට සම්පූර්ණයෙන් හෝ කොටසක් හෝ දරන්න සුදුසු නෑ කියලත් පෙන්වා තියෙනවා.

ඉතිං ඒ තරම් බරපතල විදිහට පෙන්වල තියෙනවා. හැබැයි මේ කිව්වෙ ඒ භාෂාව හදාරන්න, දරන්න එපා කියන එක විතරයි. මොකද ඒවා ලෝකයට අයිති බාහිර සාස්ත්‍ර නිසා. නමුත් සංස්කෘත භාෂාවෙන් වුනත් දහම් අදහසක් ගන්න පුළුවන්. ඒ කියන්නෙ සංස්කෘත භාෂාවෙන් ලියවිලා තියෙන දෙයක හෝ කිව්ව දෙයක හෝ දහම් අදහස මේකයි කියල ගන්න බාධාවක් නෑ.

**ශ්‍රාවක :** ඉතිං බුදු හාමුදුරුවො, මේ සිද්ධ වෙන්න පුළුවන් අනතුර ගැන මෙච්චර පැහැදිලිව දේශනා කරල තියෙනවනම්, ඔය සංස්කෘත භාෂාවට පරිවර්තනය කරනව තියා ඒ භාෂාවෙ තියෙන එක අකුරක්වත් ගන්න වටින්නෙ නැනෙ. ඉතා හොඳින් විග්‍රහයන් සහිතව පැහැදිලි කරල දීල ඇවැතක් පනවල තියෙද්දීත්, ඇයි මේ විදිහට සංස්කෘත වචන පාවිච්චි කරන්න පුරුදු වෙලා තියෙන්නෙ?

**දේශක :** ඒකට නම් හේතු මම හරියටම කියන්න දන්නෙ නෑ. හැබැයි මේ වගේ තත්ත්වයක් උදාවෙන බව කල් ඇතිවම බුද්ධ ඥානයෙන් දැකපු බුදු රජාණන් වහන්සේ, යම් පිරිසක් හෝ මේ අනතුරින් බේර ගැනීමේ අරමුණින් මේ ආකාරයට කටයුතු කරන්න ඇති කියල තමයි මට නම් හිතෙන්නෙ.

**ශ්‍රාවක :** ත්‍රිපිටක ග්‍රන්ථවල මෙච්චර පැහැදිලි කරල විග්‍රහ කරල දීල තියෙද්දීත්, දිගටම සංස්කෘත වචන අල්ලගෙන ඉන්නෙ මොකද කියන එක නම් ලොකු ප්‍රහේලිකාවක් තමයි. ඇත්තටම ඔය සංස්කෘත භාෂාවෙ විතරක් තියෙන ප්‍රශ්නය මොකක්ද?

**දේශක :** ඒ ගැන නම් මගේ අදහසක් තියෙනවා. මම ඒක ඔබේ දැනගැනීම පිණිස පමණක් කියන්නම්. අර කලින් කිව්ව වගේ ඔය සංස්කෘත භාෂාව කියන්නෙ අනෙක් භාෂාවල් වගේ ඈත අතීතයේ පටන් මිනිස්සුන්ගෙ හැඟීම් ප්‍රකාශ කරන්න, ස්වභාවයෙන්ම ගොඩ නැගුන භාෂාවක් නෙවෙයි. ඒ භාෂාව බ්‍රාහ්මණ පඬිවරුන් විසින් සකස් කරපු භාෂාවක්. ඒ සකස් කරපු නිසාම තමයි ඒකට සංස්කෘත කියල කියන්නෙ. කොච්චර උගත් දක්ෂ පඬිවරුන් විසින් හැදුවත්, සාමාන්‍ය ස්වභාවිකව ගොඩනැගුන භාෂාවක තියෙන සියලු වචනවලට සමාන වචන අලුතෙන් හදන්න පුළුවන් වෙයි කියල හිතන්න අමාරුයි.

**ශ්‍රාවක :** මම නම් කොහෙත්ම හිතන්නෙ නෑ එහෙම පුළුවන් වෙයි කියල. දැන් සිංහල භාෂාව ගත්තොත් කොච්චර වචන තියෙනවද? සමහර වචන ප්‍රදේශයෙන් ප්‍රදේශයටත් වෙනස්.

**දේශක :** ඒ වගේ හදාගත්ත භාෂාවකට මේ ධර්මය පරිවර්තනය කරනකොට සාමාන්‍ය ස්වභාවික භාෂාවල තියෙන වචනයට සමාන තේරුමක් තියෙන වචනයක්, ඒ හදපු භාෂාවෙ තිබුනෙ නැත්නම් මොකද වෙන්නෙ?

**ශ්‍රාවක :** එතකොට වෙන්නෙ ඒකට ආසන්නම තේරුම තියෙන වචනය පාවිච්චි කරන එක තමයි.

**දේශක :** ඒ වගේ ආසන්න තේරුම් දෙන වචනවලින් බුදු රජාණන් වහන්සේලා පමණක් දේශනා කරන, මීට පෙර අහපු නැති ගැඹුරු ධර්මයක් නිවැරදිව විග්‍රහ කරන්න පුළුවන් වෙයිද?

**ශ්‍රාවක :** කොහෙත්ම නෑ. සමහර විට එක වාක්‍යයක ඒ වගේ වචන දෙක තුනක් තිබුණොත්, දේශනා කරපු අර්ථයට කොහෙත්ම සමාන නැති විකෘති අර්ථයක් මතු වෙලා එන්න පුළුවන්.

**දේශක :** මගේ අදහසත් ඒකම තමයි. මොකද ඔය විදිහට කෘතීමව හදපු භාෂාවක සියලුම වචන තියෙන්න විදිහක් නැනෙ. ආසන්න තේරුම් තියෙන වචනවලින් නිවැරදි අර්ථය මතු කරගන්න බැරි නිසා තමයි බුදු හාමුදුරුවො ඔය භාෂාවට විතරක් ඔය තහනම පනවන්න ඇත්තෙ. ත්‍රිපිටකයේ ඔය සංස්කෘත වචන යොදල තියෙන තැන් කිහිපයක් අරගෙන හොඳින් විමර්ශනය කරල බැලුවම ඕනම කෙනෙකුට හොඳින්ම පැහැදිලි වෙනවා, ඒ තේරුම එතනට කොහෙත්ම ගැලපෙන්නෙ නැති බව. හැබැයි ඉතිං එච්චර කලබල වෙන්න ඕනත් නෑ. මොකද ත්‍රිපිටකයේ නියම සිංහල අරුත් දීල පරිවර්තනය කරපු තැනුත් තියෙනවා. ඒ වගේ තැනකින් වචන අරගෙන විග්‍රහ කරල හරියට තේරුම වටහගෙන පහසුවෙන් ධර්මය අවබෝධ කරගන්න පුළුවන්.

**ශ්‍රාවක :** ඒ වගේ සිංහලෙන් තියෙන දහම් කරුණක් උදාහරණයට අරගෙන පැහැදිලි කරල දුන්නොත් මටත් පහසුවෙන්ම තේරුම් ගන්න පුළුවන් වෙයි. ඒ වගේම අනෙක් අයටත් ප්‍රයෝජනවත් වෙයි.

**දේශක :** සංයුක්ත නිකායේ 4 වන කාණ්ඩය කියන ත්‍රිපිටක ග්‍රන්ථයේ 409 වන පිටුවේ තියෙනවා, අනිච්ච කියල නම තියෙන සූත්‍රයක්. ඒකෙන් විග්‍රහ කරල දෙන්නෙ, මේ ලෝකය ඇසුරු කරන කොට විඳින්න ලැබෙන සැප දුක් උපේක්ෂා කියන වේදනා තුන ගැන. ඒකෙ පාලියෙන් සඳහන් වෙන්නෙ මේ විදිහට.

> තිස්සෝ ඉමා භික්ඛවේ වේදනා
> අනිච්චා සංඛතා පටිච්ච සමුප්පන්නා

ඒකෙ සිංහල පරිවර්තනය දීල තියෙන්නෙ මේ විදිහට.

මහණෙනි, අනිච්ච වූ සංඛත වූ පටිච්ච සමුප්පන්න වූ වේදනා තුනකි.

**ශ්‍රාවක :** එතකොට අනිච්ච කියන පාලි වචනයට සිංහලෙනුත්

කියන්නෙ අනිච්ච කියලමද? එහෙනම් අනිච්ච කියල වචනයක් සිංහල භාෂාවෙත් තියෙන්න ඕනනෙ?

**දේශකඃ** සිංහල වුනා හෝ නැතා හෝ අපේ ආච්චිල සීයලගෙ කාලෙ ඉඳන් ව්‍යවහාරයේ එන "අනේ අනිච්චං" කියන වචනෙ ඔබ අහල නැත්ද?

**ශ්‍රාවකඃ** ඔව් ඔව්, මමත් ඒක අහල තියෙනවා. හැබැයි මම ඒකෙ තේරුම නම් දන්නෙ නෑ.

**ශ්‍රාවක** : ඔබට අමතක වුනාට උසස් පෙළ ජීව විද්‍යාව ඉගෙන ගන්නකොට ඔය වචනය භාවිතා වෙනවා. ඉච්චානුග පේශි සහ අනිච්චානුග පේශි කියල මාංශ පේශි වර්ග දෙකක් ගැන උගන්වනවා.

**ශ්‍රාවක** : කිව්වම තමයි මටත් මතක් වුනේ. ඉච්චානුග පේශි කිව්වෙ අපේ අතපය වගේ තැන්වල තියෙන පේශි. ඒව අපේ කැමැත්ත අනුව හොලවන්න පුළුවන්. හැබැයි ඔය අනිච්චානුග පේශි තියෙන තැන් අපේ කැමැත්තට අනුව හොලවන්න බෑ. උදාහරණයක් විදිහට හදවතේ තියෙන පේශි අපිට ඕන විදිහට හොලවන්න බෑ.

**දේශක** : එතනදි අනිච්ච කියන වචනය භාවිතා කරල තියෙන්නෙ, තමන්ගෙ කැමැත්තට අනුව කරන්න බෑ කියන අර්ථයෙන්.

**ශ්‍රාවක** : ඒක තමයි අපේ ආච්චිල සීයල, අනේ අනිච්චං කියල කම්මුලේ අත තියාගත්තෙ. ඒගොල්ලන්ගෙ කැමැත්තට අනුව වැඩ කරන්නෙ නැතිව අපිට ඕන දේවල් කරන කොට ඇති වෙන කළකිරීම පෙන්වල දෙන්න තමයි එහෙම කළේ. දැන් අපි ඒ වචනයේ සිංහල තේරුමත් දන්නවා. මේ තේරුම දහමට ගැලපෙනවද කියල බලමු.

**දේශක** : අනිච්ච කියන වචනයට සිංහල තේරුම හැටියට, කැමැත්ත ඉටු වෙන්නෙ නෑ, කැමති සේ නෑ කියන අර්ථය ගත්තම කලින් නොතේරුන වැදගත් ධර්ම කාරණා රාශියක්ම පහසුවෙන් තේරුම් ගන්න පුළුවන් වෙනවා. සංයුක්ත නිකායේ 3 වන කාණ්ඩයේ 38 වන පිටුවේ තියෙන, යද නිච්ච සූත්‍රයේ පාලියෙන් සඳහන් කරල තියෙන මේ විශේෂ ධර්ම කරුණු පරීක්ෂා කරල බලමු.

රූපං භික්ඛවේ අනිච්චං
යදනිච්චං තං දුක්ඛං

මේ පාඨය සිංහලට පරිවර්තනය කරල තියෙන්නෙ,

රූපය අනිත්‍යයි, යමක් අනිත්‍ය නම් ඒක දුකයි කියල.

මෙන්න මේ දහම් කරුණ ඔබ මෙතෙක් කල් තේරුම් ගත්තෙ කොහොමද කියල විස්තර කරල දෙන්න.

**ශ්‍රාවක** : රූපය කියන්නෙ අනිත්‍ය දෙයක්නෙ. කොහොමටවත් ස්ථිරව පවතින දෙයක් නෙවෙයි. විනාස වෙලා යනවා. ඒ නිසා මට දුකක් ඇති වෙනවා.



**දේශක** : ඔය විදිහට තමයි හැමෝම කියන්නෙ. නමුත් දැන් මම අනිත්‍ය කියන වචනය අයින් කරල ඒ වෙනුවට සිංහල වචනය යොදනවා. මොකද බුදු රජාණන් වහන්සේ සංස්කෘත වචන භාවිතා කරන්න එපා කියල තියෙනවනෙ. එතකොට ඒ දහම් පාඨය තේරුම් ගන්නෙ මේ විදිහට. රූප කියන්නෙ කොහොමටත් අපේ කැමැත්ත ඉටු කරන ජාතියක් නෙවෙයි, කැමති සේ පවතින දෙයක් නෙවෙයි. යමකින් මගේ කැමැත්ත ඉටු වෙන්නෙ නැත්නම්, කැමති සේ නැත්නම් ඒකෙන් දුකක් තමයි මට ලැබෙන්නෙ.

**ශ්‍රාවක** : ඔව් ඒක හරි. මටත් හොඳින් වැටහුනා. ඉතිං මම මුලින්ම කිව්ව එක වැරදියිද?

**දේශක** : ඔබ කිව්ව කාරණය අනුව එතන දුකක් ඇතිවෙන්න හේතු වෙලා තිබුනෙ ස්ථිර නැති ස්වභාවය. එහෙමත් නැත්නම් ඒක විනාස වෙලා යන ස්වභාවය.

**ශ්‍රාවක** : ඔව්. උදාහරණයක් විදිහට, ගෙදර රූපවාහිනිය කැඩිල විනාස වෙලා, බලන්න බැරි වුනොත් අපිට දුකයි. අපේ ඥාතියෙක් හරි හිතවත් කෙනෙක් හරි ස්ථිර නැතිව අපෙන් වෙන්වෙලා ගියොත් අපිට දුකක් තමයි දැනෙන්නෙ.

**දේශක** : ඇත්ත තමයි. ඒ වුනාට ලෝක සත්ත්වයන්ට මුහුණ දෙන්න වෙන මේ මහා දුක් කන්දට හේතුව ස්ථිර නැති ස්වභාවය කියල බුදුන් වහන්සේ දේශනා කරල නෑ.

**ශ්‍රාවක** : ඇත්ත නේන්නම්, දැනුයි මටත් තේරුනේ. මෙතන මොකක් හරි පටලැවිල්ලක් තියෙනව කියල.

**දේශක** : ඒ පටලැවිල්ල ආවෙ ඔය අනිත්‍යයි කියන වචනෙ නිසා. දැන් හිතල බලන්න, ඔබට පිළිකාවක් වගේ රෝගී තත්ත්වයක් ඇති වුනොත්, ඒ පිළිකාව අනිත්‍ය වෙලා තිබුනොත්, ඔබට දැනෙන්නෙ සැපක්ද දුකක්ද? ඒ වගේම ඔබේ හිතවතුන් වෙනුවට ඔබේ හතුරෙක්, ඔබව විනාස කරන්න බලාගෙන ඉන්න කෙනෙක්, අනිත්‍ය වෙලා විනාස වෙලා ගියොත් ඔබට දැනෙන්නෙ දුකක්ද සැපක්ද?

**ශ්‍රාවක** : ඇත්ත නේන්නම්. ස්ථිර නැති වුනාම සැප එන දේවල් වගේම දුක එන දේවලුත් ඔය ඕන තරම් තියෙන්නෙ. එහෙනම් ඒක බුදු හාමුදුරුවො දේශනා කරපු එකක් වෙන්න නම් බෑ. බුදු රජාණන් වහන්සේ දේශනා කරපු කිසිම දහමක් භාගයකට හරි ගිහින්, භාගයකට වැරදි වෙන්න බෑ. ඒ දහම වෙනස් කරන්න පුළුවන් ජගතෙක් මේ මුළු ලෝකෙම ඉන්න විදිහක් නෑ.

**දේශක** : හරියටම හරි. පුළුවන් නම්, අපි සිංහල වචන භාවිතා කරල තේරුම් ගන්න ධර්ම කාරණයට නොගැලපෙන, එකම එක උදාහරණයක් හරි තියෙනව නම් පෙන්වන්න.

**ශ්‍රාවක** : රූපවලින් අපේ

කැමැත්ත ඉෂ්ට වීමක් සිද්ධ නොවන බව හොඳින්ම පැහැදිලි වුනා. අපේ කැමැත්ත ඉෂ්ට කරන්නෙ නැත්නම්, ඒවා කැමති සේ නෑ. අපි විජානාති සහ පජානාති පිළිබඳව කරපු සාකච්ඡාවෙදි තේරුම් ගත්තා, අපි මේ විජානාති විදිහට ලෝකය දකින නිසා තමයි විඤ්ඤාණ මායාවට අහුවෙලා රැවටිලා ලෝකයේ සැප විඳීමක් ලබා ගන්න රූප ඇසුරු කරල, රූප අපේ කැමැත්ත ඉෂ්ට කරනව කියල හිතාගෙන ඉන්නෙ කියල.

රූපය මගේ කැමැත්ත ඉෂ්ට කරනවා, මට සැප ලබා දෙනවා කියල අපි හිතාගෙන ඉන්න මුළාව නිසාම තමයි ඒ රූපය තමන්ට අයිති කරගන්න විවිධ උපක්‍රම යොදන්නෙ. ඒ විදිහට රැස්කරන්න ගිහිල්ලයි, රැස් කරපුව ආරක්ෂා කරන්න ගිහිල්ලයි තමයි නොදැනුවත්වම දස අකුසලය සිද්ධ වෙන්නෙ. මම නම් කොහෙත්ම හිතන්නෙ නෑ, මේ සිංහල තේරුම වෙනස් වෙන විදිහෙ උදාහරණයක් හොයාගන්න පුළුවන් වෙයි කියල. මේ විදිහට තේරුම් ගත්තම කිසිම පටලැවිල්ලක් නෑ.

**දේශක** : දැන් ඔබටම පැහැදිලි වුනාද, නොදන්න සංස්කෘතයට වඩා දන්න සිංහල වචනයෙන් විග්‍රහ කරගත්තම හොඳට පැහැදිලිව මේ ධර්මය තේරුම් ගන්න පුළුවන් කියල? ඒ විතරක් නෙවෙයි, ත්‍රිපිටකයේ තියෙන සූත්‍රවල ඉතා පැහැදිලිව තවත් සිංහල අර්ථ තියෙනවා. ඒවායින් කිහිපයක් ඔබටත් පෙන්වල දෙන්නම්.

අනිච්ච යන්නට සිංහල අර්ථය විදිහට - අනිස (කොට්ඨිත අනිච්ච සූත්‍රය සංයුක්ත නිකාය - 4, 287 පිටුව)

අනිච්ච යන්න සිංහලෙන් විග්‍රහ කරල තියෙන විදිහට - පෙළන දෙයක්, ලැජ්ජ විය යුතු දෙයක්, පිළිකුල් කළ යුතු දෙයක් (ගිරිමානන්ද සූත්‍රය, අංගුත්තර නිකාය 6 - 194 පිටුව)

**ශ්‍රාවක** : ඒකනම් ඇත්ත තමයි. ඔය වගේ අවබෝධයක් අනිත්‍ය කියන වචනයෙන් නම් ගන්න පුළුවන්කමක් නෑ. ඒ විතරක් නෙවෙයි, අනිත්‍ය කියන වචනය ඒ එක සිංහල වචනයකටවත් යාන්තමටවත් සමාන වෙන්නෙත් නෑ. මටත් දැන් තේරෙනවා, එදා බුදු රජාණන් වහන්සේ සංස්කෘත භාෂාවට ධර්මය පරිවර්තනය කරන්න එපා කිව්වෙ ඇයි කියල. මම නම් කොහොමටවත් අනාත්ම කියන වචනය නම් දන්නෙ නෑ. ඒකටත් හොඳ සිංහල වචනයක් තියෙනවද? ආත්ම සංකල්පය කියලත් මම අහල තියෙනවා. ඒත් මට ඒ ගැන හරි වැටහීමක් නෑ.

**දේශක** : ඔය කිසිදා වෙනස් නොවන සදාකාලික ආත්මයක් තියෙනව කියන විස්වාසය තමයි ආත්ම සංකල්පය කියල කියන්නෙ. ඒක අපේ එකක් නම් නෙවෙයි. සමහර ආගම්වල ඔය අදහස තියෙනවා. ඔය ආත්මය කියන එක කපන්න කොටන්න මරන්න, ගින්නකින් දවන්න බැරි එකක් කියල තමයි ඒ අය විස්වාස කරන්නෙ. මනුස්සයෙක් මැරෙනව කියන්නෙ, හරියට කුරුල්ලෙක් එක කූඩුවක් අත්හැරල වෙන කූඩුවකට යනව වගේ වැඩක් කියලයි ඒ අය කියන්නෙ.

**ශ්‍රාවක** : කුරුල්ලෙක් වෙන කූඩුවකට යනව වගේ කියල කිව්වෙ, මැරුණට පස්සෙ මේ කය අත්හැරල වෙන කයකට ගියත් ආත්මයට මුකුත් වෙන්නෙ නෑ කියන තේරුම ඇතිව නේද?

**දේශක** : ඔව්. සමහර ආගම්වල ඔය අදහස තියෙනවා. නමුත් කිසිදාක වෙනස් නොවන සදාකාලික ආත්මය කියල එකක් තියෙනව කියල බුදු රජාණන් වහන්සේ දේශනා කරල නෑ.

බුදු රජාණන් වහන්සේ ඡ ඡක්ක සූත්‍රයෙන් (මජ්ජිම නිකාය 3, 583 පිටුව) ඒ වගේ සදාකාලික වෙනස් නොවන ආත්මයක් පතවන්න කිසිම හේතුවක් නැති බවත් පෙන්වා දීල තියෙනවා. එහෙම පෙන්වා දෙන අවස්ථාවල, අත්ත කියන වචනයට ආත්ම කියන තේරුම දීල තියෙනවා. නමුත් අනෙක් තැන්වලදී අත්ත, අනත්ත කියන වචනවලට තියෙන්නෙ වෙනත් තේරුම්.

**ශ්‍රාවක** : ඔව්. ඕනම භාෂාවක එක වචනයකට තේරුම් කිහිපයක් තියෙන්න පුළුවන්නෙ. ඉතිං මොනවද ඒ අනිත් තේරුම් කියලත් දැනගන්න කැමතියි.

**දේශක** : අනත්ත කියන්නෙ අසාර අර්ථයෙන් කියල පටිසම්භිදා මග්ගප්-ප්‍රකරණය කියන ත්‍රිපිටක ග්‍රන්ථයේ 68 වන පිටුවේ සඳහන් වෙනවා.

ඒ වගේම අනත්තයි කියන්නෙ අනර්ථයි කියන අර්ථයෙන් බව අංගුත්තර නිකායේ 6 වන කාණ්ඩයේ 417 වන පිටුවේ එන අජිත සූත්‍රයේ සඳහන් වෙනවා.

අනත්ත කියන්නෙ අනත් (අනාතයි) කියන අර්ථයෙන් බව සංයුක්ත නිකායේ 4 වන කාණ්ඩයේ 110 පිටුවේ එන අනත්ත සූත්‍රයේ විස්තර කරල තියෙනවා. ඒ විතරක් නෙවෙයි, යමක් අනත්ත නම් කළ යුත්තේ ඒකට තියෙන කැමැත්ත නැති කරගන්න එක කියලත් විස්තර කරල තියෙනවා.

**ශ්‍රාවක** : අනත්ත කියන්නෙ මොන අර්ථයෙන්ද කියල ත්‍රිපිටකයේ තියෙන සූත්‍රවල ඉතා පැහැදිලිව විස්තර කරල තියෙනවා. අපිට එහෙනම් දැන් හොඳටම තේරුම් ගන්න පුළුවන්, මේ ලෝකය අනිච්ච නිසාත් දුක්ඛ නිසාත් අනත්ත නිසාත් අපිට කරන්න තියෙන්නෙ එකම දෙයයි කියල. ඒ තමයි ලෝකෙට තියෙන අපේ කැමැත්ත නැති කර ගන්න එක.

**දේශක** : ඔව්, බුදු රජාණන් වහන්සේ මේ ලෝකය අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල පැහැදිලිව විග්‍රහ කරල තියෙන්නෙ ලෝකයේ පවතින ඇත්තම තත්ත්වය. ලෝකය කිසිසේත්ම අපි කැමති සේ නැති නිසාමයි උන්වහන්සේ අපිට ලෝකයට තියෙන කැමැත්ත අයින් කරගන්න කියල උපදෙස් දුන්නෙ. එතකොට අනිච්චයි කියල කිව්වොත් කැමැත්ත ඉෂ්ට නොවන, කැමති සේ නැති අර්ථයෙන් බව හොඳටම පැහැදිලි වෙනවා. පොඩ්ඩක් ගැඹුරින් හිතල බලන්න. ඔබට කැමැත්ත අයින් කරන්න ලේසි වෙන්නෙ ස්ථිර නැති නිසාද, එහෙමත් නැත්නම් ඔබේ කැමැත්තට කිසිසේත්ම පවතින්නෙ නැති නිසාද?

**ශ්‍රාවක** : කොහොමටත් මගේ කැමැත්තක් ඉෂ්ට නොවෙන එකකට, මම කැමති සේ නැති එකකට තවදුරටත් කැමැත්තක් තියාගෙන ඉන්න එක මහ මෝඩකමක් කියලයි මට හිතෙන්නෙ. මේක තේරුම් ගිය ගමන්ම ඒවාට තියෙන කැමැත්ත අයින් කරගන්න එක ඉතාම පහසු වේවි.

**දේශක** : ඒ වගේම හිතල බලන්න, ඔබට කැමැත්ත අයින් කරන එක ☞

ලේසි වෙන්නෙ අසාර නිසාද, අනාත්ම නිසාද?

**ශ්‍රාවක :** ආත්ම වුනත් අනාත්ම වුනත් අසාරයි නම්, කිසිම හරයක් නැත්නම්, මොකටද තවදුරටත් කැමැත්තක් තියාගෙන ඉන්නෙ? ඒ නිසා අනාත්ම කියන නොතේරෙන වචනයට වඩා අසාර කියන තේරෙන වචනය භාවිතා කළාම මට කැමැත්ත අයින් කරන්න පුළුවන් බව වැටහෙනවා.

**දේශක :** බුදු රජාණන් වහන්සේ මේ ලෝකය අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල හොඳින් වටහගන්න කියල අපට උපදෙස් ලබාදුන්නෙ, අපි හැමෝම මේ ලෝකය නිච්චයි සුඛයි අත්තයි කියල හිතාගෙන ඉන්න නිසාම තමයි. ඒ නිසාම තමයි අවසානයක් නැති දීර්ඝ සංසාර ගමනේ අපි අතරමං වෙන්නෙ. නමුත් ලෝකය අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල හොඳින් වටහා ගත්ත කෙනෙක්, මේ සංසාර ගමනෙන් බේරිලා හැකි ඉක්මනින් මේකෙන් අයින් වෙන්න කටයුතු කරන්න පටන් ගන්නව කියන එකත් දැන් නම් ඔබට පැහැදිලි වෙලා තියෙන්න ඕන. දැන් ඒ ගැන ඔබේ අදහස මොකක්ද?

**ශ්‍රාවක :** ආර්ය ශ්‍රාවකයෙක් මේ ලෝකෙ ගැන දන්නව කියල කියන්නෙ, ඔහු මේ ලෝකය අනිච්ච දුක්ඛ අනත්ත බව දන්නව කියන එකයි. මේ ලෝකය ඇසුරු කරනකොට මගේ ඉන්ද්‍රියන්වලට ගෝචර වන කිසිම රූපයකින් මගේ කැමැත්ත ඉෂ්ට වීමක් සිද්ධ නොවන බව පැහැදිලිව වටහා ගත්තොත්, ඒ රූප එකක්වත් මම කැමති විදිහට තියෙන්නෙ නෑ කියල වටහා ගත්තොත්, ඒ අය මේ රූප පස්සෙ හඹාගෙන යන තේරුමක් නැති වැඩපිළිවෙල පාලනය කරගන්න අවංකවම උත්සාහ කරනවා. ඒ අය හොඳින්ම දන්නවා, සමහර රූපවලින් සැපක් ලැබෙන්නෙ විඤ්ඤාණ මායාව මගින් මුළාවට පත්වීමෙන් පස්සෙ ආපු දැනීමක් නිසා බව. ඇත්ත වශයෙන්ම රූපවල සැපක්වත් දුකක්වත් නැති බවත්, පටිච්ච සමුප්පන්නව සැප දුක ගොඩනැගෙන බවත් හොඳින්ම වටහා ගත්ත අය තමයි මේ ලෝකෙ ඇත්ත දැක්ක අය. ඔය රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ආදිය පස්සෙ ඇලීගෙන ගැටීගෙන යන ගමන කිසිම තේරුමක් නැති වැඩක් බවත්, ප්‍රියමනාප වස්තුවලින් ආස්වාදයක් ලැබුනත් ඒක මුළාවක් වගේම ඒකෙ භයානක ආදීනව තියෙන බවත් තේරුම් ගන්නවා.

ඒ වගේම ආස්වාදයකට අහුවුනොත් ඒකෙ ආදීනවය විදිහට තමන් ඉතාමත් පහත් තත්ත්වයකට ඇද වැටෙන බවත් ඒ අය හොඳින්ම දන්නවා. මේ අවබෝධය තමයි, මෙච්චර කල් තමන් හිටියෙ ලෝකය නිච්චයි සුඛයි අත්තයි කියල හිතාගෙන බව තමන්ටම තේරුම් කරල දෙන්නෙ. ඒ කියන්නෙ මේ ලෝකය, මගේ කැමැත්ත ඉෂ්ට වෙන කොට, මම කැමති සේ පවතිනකොට මට සැපක් දුන්නා, ඒ නිසා මේ ලෝකය හරිම වටිනව කියල හිතාගෙන හිටපු අදහස. නමුත් ලෝකය අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල අවබෝධ කරගත්ත කියන්නෙ, මේ ලෝකය කිසිසේත්ම තමන්ගෙ කැමැත්තක් ඉෂ්ට කරන්නෙ නෑ, කැමති සේ නෑ, ඒ නිසා අනිවාර්යෙන්ම තමන්ට දුක් විඳින්න තමයි වෙන්නෙ කියල දැනගන්නවා. ලැබෙන සුළු සැපය ඇත්තක් නෙවෙයි, විඤ්ඤාණ මායාවට අහුවෙලා ගන්න මුළා අදහසක් විතරයි. ඒ නිසා මේ ලෝකෙ මේ මුළාවෙන් කල් ගෙවන එක හරිම අසාර, කිසිම හරයක් නැති වැඩක්, කිසිම තේරුමක් නැති වැඩක් කියල, මේ ආකාරයෙන් ගත් වැටහීමක් නිසා තමයි ඒ අය මේ ලෝකයෙන් මිදෙන්න උත්සාහ කරන්න පටන් ගන්නෙ.

**දේශක :** බොහොම හොඳයි. ඔබට බොහොම හොඳින් මේ ධර්ම කාරණා වැටහිලා තියෙන බව පේනවා. ඔන්න ඔය ආකාරයට මේ ධර්මය වටහා ගත්ත අය තමයි භාවනා කරන්න අවශ්‍ය වෙන්නෙ. භාවනාවෙන් කරන්නෙ ඒ ආකාරයට ලබාගත් අවබෝධය අනුව ලෝකය ඇසුරු කරන්න පුරුදු පුහුණු කරන එක. අනන්ත සංසාරෙ පටන් මේ ලෝකය හරිම සාරයි වටිනව කියල ආපු ගමන එකපාරටම අනිත් පැත්ත හරවන එක ලේසි පහසු වැඩක් නෙවෙයි. ඒකට ලෝකයේ අසාරත්වය වැටහෙන, නිවනෙ සැනසීම වැටහෙන විදිහෙ කර්මස්ථාන වඩන්නත් ඕන. ඒක භාවනා කිරීමක් තමයි.

ඒ වගේම ඉන්ද්‍රිය භාවනාව, සතර සතිපට්ඨානය වගේ භාවනාවක් බුදු රජාණන් වහන්සේ ලබා දුන්නු උපදෙස් අනුව ඒ ඒ අවස්ථාවන් හඳුනගෙන, ඇලීම් ගැටීම්වලින් මිදෙන්න නිතර නිතර පුරුදු පුහුණු කරන්න වෙනවා. බවුන් වඩනව කියන්නෙ ඔය ආකාරයෙන් කරන භාවනාවලට. **භවය හෙවත් බිහි වීම නැති කිරීමේ න්‍යාය ධර්මය තමයි භාවනාව කියන්නෙ. බණ භාවනා කියන්නෙත් ඒක තමයි.**

**ශ්‍රාවක :** ඒ සියළු භාවනා ගැන විස්තර වශයෙන් දැනගන්න මම බොහොම කැමැත්තෙන් ඉන්නෙ.

**දේශක :** ඔව්, ඒ ගැනත් අපි විස්තර කතා කළ යුතුමයි. හැබැයි ඉතිං මේ ජීවිතය කියන එක කොයි මොහොතෙ නැතිවෙයිද කියන්න බෑ. ඒකත් අනිච්චයි. ඒ නිසා ජීවත් වෙලා හිටියොත්, අපි වෙනත් දවසක විස්තර ඇතිව ඒ ගැන කතා කරමු. ඒ නිසා එතකල් බලාගෙන ඉන්නෙ නැතිව, ඔබ තේරුම්ගත් මේ ලෝකයේ යථා ස්වභාවය ගැන නිතර නිතර මෙනෙහි කරන්න. මේ වගේ ලෝකෙක ඉඳගෙන අනෙක් අයට හිංගි හිංසා කිරීම, නොයෙක් අයුරින් බාධා කිරීම කිසිම හරයක් නැති වැඩක් බව තමන්ම අවබෝධ කරගෙන, සියලු ලෝක සියලු සත්වයන්ට කරුණාව මෛත්‍රිය දයාව පතුරවමින් කටයුතු කරන්න පටන් ගන්න. ඔබ ලබාගත් මේ යථා අවබෝධය තවත් පිරිසකට ලබාදෙන්න අවශ්‍ය කටයුතු ඔබට හැකි පමණින් කරන්න. ඔබේ මිතුරන්, ඥාතීන් ඔබට හැකි ප්‍රමාණයෙන් මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ කරවන්න උත්සාහ කරන්න. මොකද මේ යථා දහම අවබෝධ කරගන්න පුළුවන් වෙන්නෙ, ඒ දහම කියාදෙන ධර්ම සාකච්ඡාවකට සම්බන්ධ වීමෙන් පමණක් බව දැන් ඔබත් හොඳින්ම දන්නවනෙ.

ඔබට තෙරුවන් සරණයි.

**ශ්‍රාවක :** ඔව්, මම ඉස්සෙල්ලම කරන්නෙත් ඒකම තමයි. මම ඊළඟ දවසෙ ඉඳලම පුළුවන් තරම් පිරිස මේ සාකච්ඡාවලට එක්කගෙන එනවා. මේ ලෝකෙ හැමෝටම මේ සත්‍යය අවබෝධ වේවා කියන එක තමයි දැන් මගේ එකම ප්‍රාර්ථනය.

**සටහන**

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

# සමාධිමය අත් බෙහෙත්



චරක අභයරතනාලංකාර හිමියන් ගිහිවතක සිටියදී බෙහෙත් සමාධියෙන් මතුකරගත් තවත් ප්‍රත්‍යක්ෂ ඖෂධ කීපයක් තමයි මේ සඳහන් කරන්නෙ. කිසිදු අතුරු ආබාධයක් නැති මේ ඖෂධ, වැඩි වියදමකින් මහන්සියකින් තොරව හදාගෙන හැම දෙනාටම එක විදිහට පාවිච්චි කරන්න පුළුවන්. හැබැයි මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියළු ඖෂධ ප්‍රත්‍ය වීම ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තියට යටත්ව සිද්ධ වෙන බවත් දැනගන්න ඕන.

## මොළයේ සෙම බැඳීම් ඇතුළු සෙම් රෝග සඳහා හිස ගැල්වීමට තෙලක්

නික මුල්, පාවට්ටා මුල්, රසකිඳ කලං 6 බැගින්, යකිනාරං කොළ සහ වැල් ගොටුකොළ (බේත් ගොටු කොළ) ග්‍රෑම් 500 බැගින් අරගෙන පිරිසිදු තල තෙල් බෝතල් 1 ක් දමා සාමාන්‍ය ගින්නෙන් හිඳගන්න. ඉස්සෙල්ලම වතුර හිඳිල තෙල් පදම මතු වෙලා එන අවස්ථාවෙදි කරවෙන්න පෙර බාගන්න ඕන. ඒ විදිහට එන තෙල හිස ගැල්වීමෙන් විශේෂයෙන් මොළය ආශ්‍රිත සෙම් රෝග දුරුවෙන්න හේතු වෙනවා.

## පපුවේ වියළි සෙම ගැලවීම සඳහා

ගස්ලබු මුල් කලං 12 ක්, පෙරුංකායම් කලං 4 ක්, කුප්පමේනිය දළු කලං 12 ක්, අරළු කලං 12 ක් පිරිසිදු තල තෙල්වලින් අඹරගෙන තිබ්බටු ගෙඩි තරමට ගුලි හදාගෙන ආහාර ගැනීමෙන් පසු එක බැගින් ගන්න.

## සෙම නිසා ඇති වූ ඉදිමීම් සඳහා

සෙම වැඩි වීම නිසා ශරීරයේ විවිධ ස්ථාන ඉදිමෙන්න පුළුවන්. ඇස් වටා ඉදිමීම, තොල් ඉදිමීම, ශරීරය මහත් වීම වගේ දේවල් සිද්ධ වෙලා සමහරවිට ඇවිද ගන්නත් බැරිවෙන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවලදි පාවිච්චි කරන්න පුළුවන් ඖෂධයක් තමයි මේ.

පළමුවෙන්ම හරංකහ, අමු ඉඟුරු, පෙරුංකායම් කියන මේවා සමව ගෙන, ඒ සියළු බරට සම බරක් දෙහි ඇඹුල් දමා අඹරගෙන ලිපේ තියල කකාරවල ගුලි කරගන්න පුළුවන් පදම එනකොට බාගන්න. හොඳින් නිවුනට පසු ඒ මිශ්‍රණය මී පැණියෙන් අනාගෙන තිබ්බටු ගෙඩි පමණට ගුලි කරගෙන අව්වෙ වේළගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර එක බැගින් අරගෙන උණු වතුර බොන්න.

පෙරුංකායම් වගේ දේවල් සාමාන්‍යයෙන් සැර නිසා ඉහත සඳහන් අවස්ථාවලදි නියමිත මාත්‍රාවලට වඩා වැඩි නොවෙන්න ගන්න වග බලා ගන්න ඕන.

## තැන්පත් වූ සෙම ඉවත් කිරීම සඳහා

ශරීරයේ විවිධ ස්ථානවල තැන්පත් වූ අනවශ්‍ය සෙම ඉවත් කිරීම සඳහා ප්‍රත්‍යක්ෂ ඖෂධයක් තමයි මේ. මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට අවශ්‍ය වෙන්නෙ අමු ඉඟුරු, රත් හඳුන්, දෙහි මුල්, ඇඹුල් දොඩම් මුල්, නස්නාරං මුල්, යකිනාරං මුල් සහ ඔඩි දෙහි මුල්. ඔඩි දෙහි කියන්නෙ හුඟක් ඇඹුල්, නාරං ගෙඩියට හුරු තුනී ලෙල්ලක් තියෙන දෙහි ජාතියක්. හඳුනාගැනීමේ පහසුව සඳහා ඔඩි දෙහි අත්තක පින්තූරයක් විතරක් පහතින් එල කරල තියෙනා.

මේවා සම සමව අරගෙන අඹරල මී පැණියෙන් අනල තිබ්බටු ගෙඩියකින් භාගයක් තරමට ගුලි කරගෙන උදේ හවස සුදු එැණු තම්බපු වතුරෙන් නිවුනට පසු වරකට ගුලිය බැගින් බොන්න ගන්න.

සටහන
නීතිඥ චන්දන සිරිවර්ධන


ඔඩි දෙහි

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 64 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

<u>ශ්‍රම දායකත්වය</u>

■ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ■ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ නිවන්ති වීරතුංග මහත්මිය - මහරගම ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දළ ■ චාමර මධුසංඛ මහතා - දිවුලපිටිය ■ එරන්දි ජයකොඩි මහත්මිය ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

<u>මූල්‍යමය දායකත්වය</u>

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ ලීලා ජයවර්ධන මහත්මිය සහ ආචාර්ය ධම්මිකා ජයවර්ධන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම රු. 10,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 5,000/- ■ ඩිලානි ඩයස් මහත්මිය, මෙරිල් ඩයස් මහතා සහ ශවින්ද්‍රි, මධුශානි දියණියන් - නාවින්න - රු. 5,000/- ■ නදීරා ගලගෙදර මෙනවිය - කොට්ටාව - රු. 5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ සංජය රණවීර මහතා - මහරගම - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ අනුෂ්ක කරංගොඩ මහතා - හංවැල්ල - රු. 2,000/- ■ ශිරන්තා කුමාරි මහත්මිය - කොට්ටේ - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 2,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුලු පිරිස - එල්ලක්කල - රු. 1,440/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුලු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී. ඩී. ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුලු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ ශ්‍රියාන් සමරත්න මහතා සහ ෂෙවාන්ති සමරනායක මහත්මිය - මොරටුව - රු. 1,000/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ - රු. 1,000/- ■ පුනාරා වත්මාවි වාසල මහත්මිය - මාලබේ - රු. 1,000/- ■ කේ. ඒ. ජයරත්න මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගස්ඕවිට - රු. 1,000/- ■ විමල් ගුණතිලක මහතා - පිටිපන - රු. 1,000/- ■ චතුර වික්‍රමආරච්චි මහතා - නාරාහේන්පිට - රු. 1,000/- ■ වික්‍රම පතිරණ මහතා - ගම්පහ - රු. 1,000/- ■ ඊ. ඩී. දිසානායක මහතා - ගම්පහ - රු. 1,000/- ■ උපුල් සූරියආරච්චි මහතා - පානදුර - රු. 1,000/- ■ ශලිනි කරස්නාගොඩ දියණිය - ඕස්ට්‍රේලියාව - රු. 1,000/- ■ වින්ද්‍යා නිර්මාණි දුව - රදාවාන - රු. 1,000/- ■ ජයනාත් සුභසිංහ මහතා - හෝමාගම- රු. 1,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - රු. 1,000/- ■ තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල ■ එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, මධුසංක වික්‍රමනායක මහතා - පොල්ගහවෙල, ඩබ්. එම්. එරන්දිකා ශිවන්ති මහත්මිය - මහරගම, ගයාන් අගලවත්ත මහතා - කොල්ලුපිටිය, ලීලා වික්‍රමආරච්චි මහත්මිය - රුවන්වැල්ල - එකතුව - රු. 4,800/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 175,740/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 263,000/- ■ අනෙකුත් වියදම් - 13,850/- ■ සම්පූර්ණ වියදම - රු. 276,850/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විඳිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455 (25) ඩබ්. කේ. නලිනසේකර මහතා - මගුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (26) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (27) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (28) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (29) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 0772717514 (30) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අගුණුකොළපැලැස්ස - 0714492649 (31) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677 (32) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙ දර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 (33) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 (34) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - අංක 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (35) සෙනරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (36) සසුන සෙනසුන බ්‍රහ්ම විහාරය, බණගේතැන්න, මතුරට, වලපනේ - 077-7770582 (37) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 071 - 4569500 / 035 - 3222220

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# යන කෙනෙක් නැත
# යන තැනක් නැත...

සසර ගමනේ සරන අසරණ සතුන් වෙත පාමින් සෙනේ
සතර බුදුවරු මේ කපට බුදු වෙලා පැවසූ බුදු බණේ
මෙවර ගෝතම මුනිඳු දෙසූ බණ තවම නතරව නැත දැනේ
සසර ගමනින් එතෙර වන්නට දුක දකිමු හරියට නැණේ

දුක මතයි ලොව පිහිටියේ එය මුනිඳු දෙසුවේ දැක නැණේ
සැක නැතිව එම දුක හැඳින ගෙන ගැලවිලා යමු විගසිනේ
අපමණ වූ මේ අනත සසරින් මිදී සැනසෙන දින ගැනේ
සපැමිණෙමු අපි අමා නිවනට නැතේ දුක් ගිනි මතු දිනේ

මෙවන් බියකරු ගමන නොදැනම ඇදෙයි නිරයට මතු දිනේ
දුවන්නට ගියහොතින් ලොව තුල අතරමං වෙනවා අනේ
යැවෙන්නෙම මහ ගෙදර දුගතිය වෙතට සත නොදැනම සැනේ
නුවන් මතු කර නොගතහොත් අද අසරණයි සදහට හෙණේ

දැවෙන ගත සිත නිවනු බැහැ පවතින ලොවේ හැටි එය තමා
මවන ලෝකද මැවෙන ලෝකද මුළාවක්මයි නැත නිමා
සවන බුදු බණ වෙතට යොමු කර දකිනු තිලකුණු දෙස අමා
නිවන ගෙන දෙන හේතුඵල දම දුටුවොතින් ගැලවෙයි සැමා

උපන් දා සිට මැරෙන තෙක් ඇත සතෙක් මම යැයි කියා ගන්නා
මෙවන් සත ලොව හිතන පතනා කිසිත් පැතු ලෙස සිදු නොවන්නා
දුකින් හඳනා ලෝකයත් සිය කයත් තම හට අහිමි වෙන්නා
තමන් නොසිතුව ලෙසට හේතුවෙ ඵලය සදහට දුකම දෙන්නා

මොන දෙයක් නැති වුනත් සත හට සදාකාලික සුව ගෙනේ
පින කළත් මදි අතැර මිදිලම තමයි එතැනට පැමිනුනේ
වෙන දෙයක් මෙහි වුනා දෙන් අද පටන් දුක නැහැ කිසි දිනේ
යන කෙනෙක් නැත යන තැනක් නැත නිවන එතැනයි මිනිසුනේ

පබැඳුම - හඳපාන්ගොඩැල්ලේ අරියදස්ස හිමි




# ගෙවෙනා පින...

| | |
|---|---|
| උඩඟුව සිටියොතින් පෙර පින ලෙසට | අමා |
| ඉඩ ඇත සතරපායේ තව නොමැත | පමා |
| හැඩ වැඩ දමා හිටියත් මොහොතකිය | තමා |
| බඩ ගැන දෙඩ වූ ගෙඹි ලෙස එය වෙනව | නිමා |
| | |
| එළියෙන් අඳුර වෙත ගොස් පෙර පිනද | ගෙවා |
| අදමින් දිවි ගෙවයි රජ සිටුවරුද | පවා |
| අඳුරෙන් එළිය හෝ එළියෙන් එළිය | දොවා |
| පෙර පින් වඩන සත ගොඩ යති අඳුර | දවා |
| | |
| අහවර විටදි පෙර පින් කිම ලොවේ | නියා |
| දහමෙහි එල ලබන්නත් අදහසේ | නොයා |
| දහ දුක විඳ විඳා පස්කම් සුවේ | සොයා |
| මහධන සිටුතුමත් සිඟමන් කකා | ගියා |
| | |
| ගෙවෙන තෙක් නොසිට පෙර පින ලද | සැනක |
| නිවෙන දම් වඩනු යන එන හැම | තැනක |
| පවන බඳු විලස ගෙවෙනා පින | දිනක |
| නොවන විටදි දුකමයි සසරෙහි | කොනක |
| | |
| පවතින දෙයක් නොව පිනමුත් ලෙසට | රිසී |
| නවතින තැනක් ඇත නොකළොත් දෙයක | කිසී |
| දිව යන සසරෙ නිවෙනට පින වෙනව | නිසී |
| ලොවමින හිටියොතින් එපිනද යනව | නැසී |
| | |
| පිනවනු පිණිස ලද පෙර පින රකිනු | බැරී |
| දින දින ගෙවෙයි කෑ බී විට ලොවෙහි | එරී |
| දැනගෙන කළොත් අදටත් පින් එලෙස | හරී |
| නැණ ගුණ වැඩෙයි හෙට නිවනෙහි දොරද | ඇරී |





පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1064 Rs.25.00
Hela Bodhu Piyuma 64

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී